සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2561 ක් වූ පොසොන් මස (ව්‍යවහාරික වර්ෂ 2017 ජූනි)

69 වෙනි කලාපය

මහා විද්‍යාඥයා පෙන්වා දුන්

## ගති ආකර්ෂණ නියමය හා සක්වල නිර්මාණය



රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

# නන්ද කුමරු සහ ජනපද කල්‍යාණී



නන්ද කුමරු නෑ සොයුරිඳු බුදු හිමි ගේ
බන්ධනය සරණ අභියස විය ඔහු ගේ
මන්ද එහෙත් යනු හිමි පසුපස නොහැඟේ
බැන්ද පෙම තිරය ජනපද කළණිය ගේ

සඳළු තලේ හිඳ පවසයි එදෙස බලා
සියලු බැමි බිඳැර ඔහු එයි නොවෙමි මුළා
හිතලු එහෙත් බොරු විය ඔහු පැවිදි වෙලා
ඉසිලූ දුක කුමරි හදවත දෙකඩ කළා

බවුන් වඩන ලෙස කමටහන් පැන විය
ගතින් එතැන මුත් ඇය සිතින් හමු විය
තමන් මනස එකලස් බවෙන් තොර විය
එවන් දුකක බව ඔහු කෙරෙන් පළ විය

බුදු හිමි වෙතට එපුවත සැළ කෙරුන සඳ
හුදු දොස් පරොස් නොව ඔහු සිත නිවන ලෙද
රැඳු ඔහු රැගෙන ගොස් සුර ලොව සුරඹ මැද
පුදුමයි නොවැ කවුද ජනපද කළණි ළඳ

සුරඹුන් සිය ගණන් වුව ලද හැකිය කියා
විදසුන් වැඩිය යුතු යළි මනු ලොවට ගියා
මනසින් නන්ද හිමි සිත අරමුණක තියා
කෙලෙසුන් බිඳ දමන ලද අම නිවන සොයා

රුව යනු අතිර දහමකි නිති වෙනස් වේ
නව දොර දුගඳ විහිදෙන කුණපයක් වේ
පව පින දැන විසුම සැමටම සෙතක් වේ
භව දුක නසන මග එපරිදි පසක් වේ

(පෙළ දහම ඇසුරෙනි)

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# පෙළ දහමින් නිවන් මග 08

ලොවිතුරු බුදු දහම ගැන හොයන පින්වතුන්ට මෙහෙම අත්දැකීමක් ඇති, සමහර විට අහලත් ඇති, ඕන තරම් කතා වෙලත් ඇති. කෙනෙක් කියනවා, මේ දහම නම් ලෝකෝත්තර දහම, නමුත් අරක නම් ලෞකික දහමක් කියල. එහෙම නැත්නම් මෙහෙමත් අහල ඇති. ආ... ඒක ආර්ය දහම, මේක අනාර්ය දහම. දැන් කොහොමද අපි මේ වෙනස තෝර ගන්නෙ?

මේ ගැටළුව අද විතරක් නෙවෙයි, ලොවිතුරා බුදුන් වහන්සේ වැඩ ඉන්න කාලෙත් තිබුනා. උන්වහන්සේ සැවැත් නුවර ජේතවනාරාමයේ වැඩ සිටින වෙලාවක වෙච්ච සිදුවීමක් තමයි මේ. ඒ අවස්ථාවෙදි භික්ෂූන් වහන්සේලා සැවැත් නුවර පිණ්ඩපාතෙ වඩින්න ලෑස්ති වුනා. නමුත් පිණ්ඩපාත කරන්න වේලාසන වැඩි නිසා, මේ භික්ෂූන් වහන්සේලා අන්‍ය පරිබ්‍රාජකයො ඉන්න ආරාමයකට වැඩියා. ඉතිං එතනදි ඒ පරිබ්‍රාජකයො භික්ෂූන් වහන්සේලාගෙන් මෙහෙම ප්‍රශ්නයක් ඇහුවා.

“ඇවැත්නි, ශ්‍රමණ ගෞතම තෙම කාමයන්ගේ නැති කිරීම (පනවයි) ප්‍රකාශ කරයි. අපිත් කාමයන්ගේ නැති කිරීම ප්‍රකාශ කරමු. ඇවැත්නි, ශ්‍රමණ ගෞතම තෙම රූපයන්ගේ නැති කිරීම ප්‍රකාශ කරයි. අපිත් රූපයන්ගේ නැති කිරීම ප්‍රකාශ කරමු. ඇවැත්නි, ශ්‍රමණ ගෞතම තෙම වේදනාවන්ගේ නැති කිරීම ප්‍රකාශ කරයි. අපිත් වේදනාවන්ගේ නැති කිරීම ප්‍රකාශ කරමු. ඇවැත්නි, මෙහි ශ්‍රමණ ගෞතමයන්ගේ දේශනාවෙත් අපගේ දේශනාවෙහි හෝ අනුසාසනාවෙත් වෙනස කවරේද, වෙනස් අදහස කවරේද, වෙනස් කාරණය කුමක්ද? (මහා දුක්ඛක්ඛන්ධ සූත්‍රය - සීහනාද වර්ගය - මජ්ජිම නිකාය)

ඔබ වහන්සේලාගේ ශාස්තෘ වූ ලොවිතුරා බුදුන් වහන්සේත් කාමයන් දුරු කරන හැටි කියනවා. අපිත් ඒකම කියනවා. ඒ වගේම රූප, වේදනා... ආදියේ නැති කිරීම ගැන කියනවා. අපි කියන එකමද උන් වහන්සේ කියන්නෙ? අපි කියන එකෙයි උන්වහන්සේ කියන එකෙයි වෙනසක් තියෙනවද? ඔහොම ප්‍රශ්නයක් තමයි මේ අන්‍ය පරිබ්‍රාජකයො ඇහුවෙ.

මෙතනදි දැනගත යුතු කාරණයක් තියෙනවා. ලොවිතුරා බුදුන් වහන්සේටත් කලින් මේ දේශනා කරපු අය ඉඳල තියෙනවා. නමුත් නිවන් දැකපු කෙනෙක් හෝ මාර්ග ඵලයක් ලබපු කෙනෙක් නෑ. ඒත් ලොවිතුරා බුදුන් වහන්සේ දේශනා කළාට පස්සෙ ඕන තරම් මාර්ගඵල ලාභීන් බිහි වුනා. ඒ කියන්නෙ වචන එක සමාන වෙන්නත් පුළුවන්, ගැලපෙන්නත් පුළුවන්. හැබැයි දේශනා දෙකේ ප්‍රතිඵල දෙකක්. මේ වෙනස තමයි අර භික්ෂූන් වහන්සේලාගෙන් අන්‍ය පරිබ්‍රාජකයො ඇහුවෙ. මෙතන අන්‍ය පරිබ්‍රාජකයො කිව්වෙ බුද්ධ සාසනයෙන් පිට වෙනත් අදහස් දරන ගුරුවරු යටතේ පැවිදි ජීවිත ගත කරන අය. ඒ අයත් අර ජාතියේ දේශනා කරනවා, අහනවා, ඒත් ලබපු ප්‍රතිඵලයක් නෑ.

ඉතින් භික්ෂූන් වහන්සේලා මේ ගැන වාද කරන්න ගියේ නෑ. කිව්ව දේ එක පාරටම පිළිගත්තෙත් නෑ, අයින් කළෙත් නෑ. මේ ගැටළුව විසඳගන්න හොඳම ගුරුවරයා ලෝකයට පහළ වෙලා ඉන්න මොහොතක, කෙලින්ම උන්වහන්සේගෙන්ම අහගන්න පුළුවන්. ඒ නිසා ඒ භික්ෂූන් වහන්සේලා කිසිවක් නොකියා නැවතත් ජේතවනාරාමයට වැඩම කරල ලොවිතුරා බුදුන් වහන්සේට මේ කාරණය කිව්වා. උන්වහන්සේ මේ භික්ෂූන් වහන්සේලාට ඒ වෙනස පහදල දුන්නා.

“මහණෙනි, මෙසේ කියන්නාවූ අන්‍ය තීර්ථක පරිබ්‍රාජකයන්ට මෙසේ කිය යුතු වන්නේය. (කෙසේද?) ඇවැත්නි, කාමයන්ගේ සැපය කවරේද? දෝසය කවරේද? (කාමයන්ගෙන්) නික්මීම කවරේද? රූපයන්ගේ සැපය කවරේද? දෝසය කවරේද? (රූපයන්ගෙන්) නික්මීම කවරේද? වේදනාවන්ගේ සැපය කවරේද? දෝසය කවරේද? (වේදනාවන්ගෙන්) නික්මීම කවරේද? මහණෙනි, මෙසේ විචාරණ ලද්දාවූ අන්‍ය තීර්ථක පරිබ්‍රාජකයෝ සම්පූර්ණ කොට නොකියන්නාහ. මත්තෙහිද දුකට පැමිණෙන්නාහ. ඊට හේතු කවරේද? මහණෙනි, නොවැටහෙන දෙයෙහි ඒ එසේමය. මහණෙනි, තථාගතයන් වහන්සේ හෝ තථාගත ශ්‍රාවකයෙකු හෝ මේ සාසනයෙන් ඇසූවෙකු හෝ හැර, (වෙන) යමෙක් මේ ප්‍රශ්නය විසඳීමෙන් සිත සතුටු කරන්නේද, එබඳු කෙනෙකු දෙවියන් සහිතවූ, මරුන් සහිතවූ, බ්‍රහ්මයන් සහිතවූ ලෝකයෙහි දෙව් මිනිසුන් සහිතවූ, මහණ බමුණන් සහිතවූ ප්‍රජාවෙහි ඇති බව නුවණින් නොම දකිමි. (මහා දුක්ඛක්ඛන්ධ සූත්‍රය - සීහනාද වර්ගය - මජ්ජිම නිකාය)

ඉතින් ලොවිතුරා බුදුන් වහන්සේ, ඒ වගේ ප්‍රශ්න නගපු වෙලාවකට නැවත ප්‍රශ්න අහන හැටි කියල දුන්නා. කෙනෙක් කියන්න පුළුවන්, අපිත් ඒකමනේ කියන්නෙ කියල. වචන සමාන වෙන්න පුළුවන්. ඒත් මේ ප්‍රශ්න ටික ඇහුවම ඒ අයට උත්තර නැතිවෙනවා කියල කියන්නෙ, ඒ ලෝකෝත්තර දහම නෙවෙයි, බුදු බණ නෙවෙයි. ලොවිතුරා බුදුන් වහන්සේ දේශනා කළේ, දැන් ඔබලා ගිහින් මෙහෙම අහන්න, ඒවට උත්තර තියෙනවද බලන්න කියල.

කාමයන්ගේ ආස්වාදය මොකක්ද? ඒ කිව්වෙ කාමයන්ගෙන් සැපක් තියෙනව නම් ඒ සැපය

මොකක්ද? එහෙම නැත්නම් ආස්වාදය මොකක්ද? ඒ වගේම ඒ කාමයන්ගේ යම් කිසි දෝසයක් තියෙනවද? එහෙමත් නැත්නම් ආදීනවයක් තියෙනවද, එහෙම තියෙනව නම් ඒ මොකක්ද? ඒ කාමයන්ගෙන් නික්මෙන්නෙ කොහොමද? ඔන්න ඔය ප්‍රශ්න ටික අහන්න කිව්වා. ඔය ටිකට උත්තර දෙන්න පුළුවන් නම්, දෙකම එක සමානයි කියල ගන්න පුළුවන්. එහෙම උත්තර දෙන්න පුළුවන් දෙවියෙක් හෝ මහණ බමුණෙක් හෝ ඉන්නව නම්, ඒ මගෙන් හෝ මගෙන් අහගත්ත ශ්‍රාවකයන් වහන්සේ නමකගෙන් අහගත්ත කෙනෙක් හැර වෙන කෙනෙකුට බෑ කියලයි දේශනා කළේ. ඔය විදිහටම රූපයටත් වේදනාවටත් පහදල දුන්නා.

මෙතනදි එක කාරණයක් පැහැදිලියි. **ලෝකෝත්තර දහමක් වෙන්න නම්, ඒ දහම තුල කෙනෙක් ඇලෙන බැඳෙන දේ තුල ඇති ආස්වාදයත්, එහෙම නැත්නම් සැපයත්, ඒකෙ තියෙන ආදීනවයත්, එහෙම නැත්නම් දෝසයත්, ඒකෙන් නික්මෙන හැටිත්, එහෙම නැත්නම් නිස්සරණයත් පෙන්වීමේ හැකියාව තියෙන්න ඕන.** ඒ අදහස ගළපල තේරුම් කරන්න හැකියාව තියෙන්න ඕන. ඉතින් ලොව්තුරා බුදුන් වහන්සේ ඉතුරු ටිකත් මෙහෙම පහදල දුන්නා. මුලින්ම පහදල දුන්නෙ මේ කාමයන් කෙරෙහි ආස්වාදයක් එන හැටි.

"මහණෙනි, කාමයන්ගේ සැපය කවරේද? මහණෙනි, කාම ගුණයෝ පසකි. කවර පසක්ද යත්? චක්ඛු විඤ්ඤාණයෙන් (රූපය දැනගන්නා සිතින්) දත යුතු වූ, යහපත් වූ, සිත් අලවන්නා වූ, මන වඩන්නා වූ, ප්‍රිය ස්වභාව වූ ආසාව ඉපදීමට කරුණු වූ රූපාරම්මණයෝද, යහපත් වූද කැමති වන්නා වූද මන වඩන්නා වූද ප්‍රිය වූද ඇලීමට හිතකර වූද සෝත විඤ්ඤාණයෙන් (ශබ්දය දැනගන්නා සිතින්) දත යුතු වූ ශබ්දයෝද, ඝාණ විඤ්ඤාණයෙන් (ගඳ සුවඳ දැනගන්නා සිතින්) දත යුතු වූ ගන්ධයෝද, ජිව්හා විඤ්ඤාණයෙන් (රස දැනගන්නා සිතින්) දත යුතු වූ රසයෝද, කාය විඤ්ඤාණයෙන් (ස්පර්ශය දැනගන්නා සිතින්) දත යුතු වූ ස්පර්ශයෝද යන මොවුහු කාම ගුණ පසයි''.

"මහණෙනි, මේ පංචකාම ගුණයන් හා පටිච්ච වීමෙන් යම් කායික සැපක් හෝ මානසික සැපක් උපදවයිද, මෙය කාමයන්ගේ සැපය වන්නේය." (මහා දුක්ඛක්ඛන්ධ සූත්‍රය - සීහනාද වර්ගය - මජ්ජිම නිකාය)

මෙතනදි කාමයන්ගේ සැපය විස්තර කළේ ඇස, කන, නාසය, දිව, කය කියන කොටස් පහට දාල. පංච කාමයන්ගේ ආස්වාදය කිව්වෙ, මේ කොටස් පහෙන් විඳින සැපක් තියෙනව නම් ඒකට. හැබැයි ඒක සැපක් වෙන හැටිත් පෙන්නුවා. යහපත් වූ සිතට ඇලෙන්නා වූ, මන වඩන ප්‍රියමනාප දෙයක් වෙන්න ඕන. එහෙම නැත්නම් ඒකට සැපක් කියල කියන්න බෑ. අපි කැමති කෙනෙක් දැක්කම හිතට එන සතුටයි, අකමැති කෙනෙක් දැක්කම සිතට එන ගැටෙන ස්වභාවයයි අමුතුවෙන් විස්තර කරන්න ඕන නෑ. ඒක හැම කෙනෙකුටම තියෙන අත්දැකීමක්. දැන් ඉතිං අපිට ඒ සැප තේරෙනව කිව්වොත් හරිද? මට පංචකාමයන්ගේ තියෙන සැප ගැන තේරෙනවා කියල කෙනෙකුට එහෙම හිතෙන්න පුළුවන්. ඒ කියන්නෙ තමන් ලෝකෝත්තරව ඒ දේ දැකලද කිව්වෙ? එහෙම නැත්නම් උඩින් පල්ලෙන් තමන් වින්ද සුව වේදනාවක් ගැනද කිව්වෙ? කොහොමද මේ දැක්ක දේ ලෝකෝත්තර හෝ ලෞකික කියල කිව්වෙ.

"මහණෙනි, මම ඇස පිළිබඳ ආස්වාදය සෙවීමෙහි හැසිරුනෙමි. ඇස පිළිබඳ යම් ආස්වාදයක් වේද, එය අවබෝධ කෙළෙමි. ඇස පිළිබඳ යම් තාක් ආස්වාදයක් වේද, එය මා විසින් ප්‍රඥාවෙන් මනාව දක්නා ලදී. (ආස්වාද සූත්‍රය - යමක වර්ගය - සළායතන සංයුක්තය - සළායතන වර්ගය - සංයුක්ත නිකාය)

එතකොට මේ ඇසේ ආස්වාදය, සැපය දකින විදිහක් තියෙනවා. හැබැයි ඒක දකින්නෙ වේදනාවක් විදිහට නෙවෙයි. ඒ වේදනාවෙන් දකීම නම් ඕන කෙනෙකුට දකින්න පුළුවන්. ලොව්තුරා බුදුන් වහන්සේගෙ ශ්‍රී මුඛ දේශනාවෙන්ම පෙන්වල තියෙනවා, උන්වහන්සේත් මේ කාරණය හෙව්ව කියල. එතකොට ඊට කලින් උන්වහන්සේ මන වඩන රූපයක් දැකල නැත්ද? සතුටක් ඇති වෙලා නැත්ද? තියෙනවා. නමුත් එතකොට හෙව්වෙ මොකක්ද? සාමාන්‍ය ලෝකයා හොයන විදිහට මේ ආස්වාදය වේදනාවක් හැටියට නෙවෙයි, ප්‍රඥාවෙන්, එහෙම නැත්නම් නුවණින් දකිනකල් හෙව්වා. අවසානයේ උන්වහන්සේ මෙහෙම දේශනාවක් කරනවා.

"මහණෙනි, යම් කලක පටන් මම මේ සවැදෑරුම් වූ, අධ්‍යාත්මික වූ ආයතනයන්ගේ මෙසේ ආස්වාදය ආස්වාද වශයෙන්ද, ආදීනවය ආදීනව වශයෙන්ද, නිස්සරණය නිස්සරණ වශයෙන්ද, තත් වූ පරිද්දෙන් මනාකොට දැන ගත්තෙම්ද, මහණෙනි, එකල්හි මම දෙවියන් සහිත වූ, මාරයන් සහිත වූ, බ්‍රහ්මයන් සහිත වූ ලෝකයෙහි මහණ බමුණන් සහිත වූ, දෙව් මිනිසුන් සහිත වූ සත්ත්ව ප්‍රජාවෙහි නිරුත්තර වූ සම්‍යක් සම්බෝධිය අවබෝධ කෙළේ වෙමියි ප්‍රකාශ කෙළෙමි. මාගේ අරිහත් ඵල සමාධිය විනාස නොවන්නේය. මේ අන්තිම ජාතිය වේ. දැන් නැවත ඉපදීමක් නැත්තේය. ඥාන දර්ශනය පහළවිය." (ආස්වාද සූත්‍රය - යමක වර්ගය - සළායතන සංයුක්තය - සළායතන වර්ගය - සංයුක්ත නිකාය)

එතකොට උන්වහන්සේ ඇසේ ආස්වාදය හරියටම දැක්කෙ බුද්ධත්වයෙන් පස්සෙ. එතකල් මොකක්ද මේ ආස්වාදය කියල හෙව්වා. **කෙනෙක් කිව්වොත්, ඇසේ තියෙන සැප මට තේරෙනවා කියල, එහෙම කිව්වෙ ප්‍රඥාවෙන් දැකලද, එහෙම නැත්නම් වේදනාවක් විදිහට විඳලද කියල අහල දැනගන්න වෙනවා. මොකද ලොව්තුරා බුදුන් වහන්සේ ඒක දකින්න කිව්වෙ ප්‍රඥාවෙන්.** ඒ කිව්වෙ ආස්වාදය ආස්වාදය විදිහට දකින්න ඕන ප්‍රඥාවෙන්. ඒ වගේමයි ආදීනවයත්, ඒ ආස්වාදයේ ඇති දෝසයත්. මොකක්ද මේ දෝසය? ඒකත් ඉහත දේශනාවෙ වගේම නුවණින්ම දකින්න ඕන. ඒක කොහොමද කරන්නෙ? ලොව්තුරා බුදුන් වහන්සේ මේ කාමයන්ගේ තියෙන දෝස එක එක විදිහට පෙන්නුවා. මේ එක විදිහක්,

"මහණෙනි, කාමයන්ගේ දෝසය (විපත) කවරේද? මහණෙනි, මේ ලෝකයෙහි කුල පුත්‍ර තෙම යම් කිසි ශිල්පයකින් ජීවත් වෙයිද, එනම් රේඛා සාස්ත්‍ර කීමෙන්, ගණන් තැබීමෙන් සංඛ්‍යා ලේඛන ගැනීමෙන්, ගොවිකමින්, වෙළඳාමෙන්, ගව පාලනයෙන්, (රජුන්ට) උපස්ථාන කිරීමෙන්, රාජ භටයෙකු වීමෙන්, මෙයින් අන්‍ය වූ (ඇත්, අස්) ශිල්පයකින්ද, (ජීවත් වනු සඳහා) සිතෙන් පෙළනු ලබන්නේ, උෂ්ණයෙන් පෙළනු ලබන්නේ, ඩැහැ ලේ බොන මැස්සෝය, මදුරුවෝය, සුළඟය, අව්වය, සර්පයෝය යන මොවුන්ගේ ස්පර්ශයෙන් ගැටෙමින්, බඩගින්නෙන් හා පිපාසයෙන් මිරිකෙමින් ජීවිතය පවත්වයිද

මහණෙනි, මෙයද කාමය හේතුකොට ගෙන, කාමය මුල් කරුණ කොට ගෙන, කාමය කරණකොට ගෙන, කාමය නිසා මෙලොවම වින්ද යුතු වූ ආදීනව රාශිය, දුක් රාශිය වන්නේය. (මහා දුක්ඛක්ඛන්ධ සූත්‍රය - සීහනාද වර්ගය - මජ්ජිම නිකාය)

දැන් මේ දේශනාව අද කාලයට ගැළපෙන විදිහට අරගෙන බලමු. කෙනෙක් රස්සාවක් කරන්නෙ ඇයි? එක්කො අම්ම තාත්ත රකින්න, තමන් රැකෙන්න, එහෙම නැත්නම් අඹු දරුවන් රකින්න, ඉන්න හොඳ තැනක් හදාගන්න, හොඳට කාල බීල ඉන්න, සතුටු වෙන්න. මේ දේවල් කරන්න තමයි මූලිකව කෙනෙක් රස්සාවක් කරන්න පෙළඹෙන්නෙ. නිකං රස්සාව කරන්න බෑ. මුලින්ම රස්සාවක් හොයාගන්න ඕන. ඒකට හිතෙන් පෙළෙනවා. අනේ මට රස්සාවක් නෑ, කොහොමහරි හොයාගන්න ඕන. දැන් ඉතිං පත්තර බලනවා, ඉල්ලුම් පත්‍ර දානවා, සම්මුඛ පරීක්ෂණවලට යනවා, විවිධ බලධාරීන් පස්සෙ යනවා. විවිධාකාරයේ පීඩාකාරී දේවල්වලට මුහුණ දෙන්න වෙනවා. දැන් ඉතින් හිතෙන් පෙලි පෙලී තමයි ඉන්නෙ.

මේ පෙලීම් ඇති වුනේ ඇයි? අර ඉහත කිව්ව කාමයන් ලබාගන්න ඕන නිසා. ඇයි කාමයන් ලබාගන්න ඕන? ඒවා සුව නිසා. නමුත් ඒ සුවය නිකං ලැබෙන්න නෑ. ඒකට උත්සාහ කරන්න ඕන. අර කිව්ව වගේ රස්සාවක් කරන්න ඕන. මේක තමයි කාමයන්ගේ තියෙන දෝසය. ඔය විදිහට නුවණින් දැක්කම තමයි කාමයන්ගේ දෝසය දැක්කා වෙන්නෙ. වෙනත් විදිහකින් කියනව නම්, ආස්වාදය ආස්වාදය හැටියට දැක්ක වෙනවා, ආදීනවය ආදීනවය හැටියට දැක්ක වෙනවා. හැබැයි ඒක වේදනාවක් හැටියට නෙවෙයි දැක්කෙ. නුවණින් දැකල කල්පනා කළේ. හැබැයි අර කාමයන්ගේ සුවයක් නැත්තෙ නෑ, තියෙනවා. ඒත් ඒවා නිකං ලැබෙන්නෙ නෑ. ඒකට උත්සාහ වීර්ය කරන්න ඕන. ඒ උත්සාහ වීර්ය සුවයක් නෙවෙයි. අන්න ඒකයි කාමයන්ගේ තියෙන දෝසය, එහෙම නැත්නම් ආදීනවය. මේ ක්‍රමයට තමයි සුවයයි, ආදීනවයයි ප්‍රඥාවෙන් දකින්නෙ.

"අනේ අයියෝ මට මේ දුක දරාගන්න බෑ. උඹල වෙනුවෙන් මේ ගේ හදන්න මම කොච්චර මහන්සි වුනාද? මෙහෙම සැපක් විඳින්න මම කොච්චර දුක් වින්දද?" මේ විදිහෙ කතාත් ඕන තරම් අහල ඇති. එතකොට ඒ පුද්ගලයා මේ කාමයන්ගේ දෝසය දැක්කෙ නුවණින්ද, එහෙම නැත්නම් වේදනාවක් හැටියටද? දෙන්නෙක් දෙවිදියකට දැක්කෙ. එක් කෙනෙක් දකිනවා, ඕව් එහෙම සැපක් තියෙනවා, ඒත් ඒ සැපය නිකං ලැබෙන්නෙ නෑ, ඒකට යමක් කරන්න වෙනවා, ඒ කරන දේ නම් සැපක් නෙවෙයි කියල. අන්න ඒ නුවණින් දැක්ක කෙනෙක්. නමුත් අනෙක් කෙනා එහෙමද දැක්කෙ? නෑ. ඔහු අඳෝනා තියනවා. ඔහු ඒක දැක්කෙ වේදනාවක් විදිහට. දැන් ඒ විඳින කාමයන්ට මොකක්හරි වුනොත්, මේ දෙන්නගෙන් වැඩියෙන්ම විඳවන්නෙ කවුද? නුවණින් දැක්ක කෙනාද, එහෙම නැත්නම් වේදනාවක් හැටියට දැක්ක කෙනාද? තමන් තුලින්ම දැන් හරි උත්තරය ගන්න පුළුවන්. මෙන්න මේ කාරණය නිසයි ලොව්තුරා බුදුන් වහන්සේ අන්‍ය සාසනයක මේ ක්‍රමය නෑ කිව්වෙ. වචන තියෙන්න පුළුවන්. නමුත් නුවණින් දකින ක්‍රමය නෑ. ඉතින් මේ ක්‍රමයටම නිස්සරණයත් පෙන්නුවා.

"මහණෙනි, කාමයන්ගේ නැති කිරීම කවරේද? මහණෙනි, කාමයන්හි ආසාව මැඩ දුරු කිරීමක් වේද, ආසාව නැති කිරීමක් වේද, මෙය කාමයන්ගෙන් නිදහස් වීමයි. මහණෙනි, යම් කිසි ශ්‍රමණයෝ හෝ බ්‍රාහ්මණයෝ හෝ මෙසේ කාමයන්ගේ සැපය සැපය වශයෙන්ද, දෝසය දෝසය වශයෙන්ද, වෙන්වීම වෙන්වීම වශයෙන්ද තත් වූ පරිද්දෙන් නොදනිත්ද, ඔවුහු ඒකාන්තයෙන් තමා හෝ කාමයන් පහ කරන්නේය, අන්‍යයෙකු යම් සේ පිළිපැදීමෙන් ඒ කාමයන් දුරු කරන්නේද, ඒ ආකාරයෙන් සමාදන් කරවන්නේය (යොදවන්නේය) යන මේ කාරණය විද්‍යමාන නොවෙයි (සිදුනොවෙයි.)

"මහණෙනි, යම් කිසි ශ්‍රමණයෝ හෝ බ්‍රාහ්මණයෝ හෝ මෙසේ කාමයන්ගේ සැපය සැපය වශයෙන්ද, දෝසය දෝසය වශයෙන්ද, වෙන්වීම වෙන්වීම වශයෙන්ද තත්වූ පරිද්දෙන් දනිත්ද, ඔවුහු ඒකාන්තයෙන් තමා හෝ කාමයන් පහ කරන්නේය, අන්‍යයෙකු හෝ යම් සේ පිළිපැදීමෙන් ඒ කාමයන් පහ කරන්නේද, ඒ ආකාරයෙන් සමාදන් කරවන්නේය (යොදවන්නේය) යන මේ කාරණය විද්‍යමාන වෙයි (සිදුවෙයි.) (මහා දුක්ඛක්ඛන්ධ සූත්‍රය - සීහනාද වර්ගය - මජ්ජිම නිකාය)

ඉතිං නුවණින් ආදීනවය දැක්ක කෙනාට විතරයි ඒකෙන් මිදෙන්න හිතෙන්නෙ. මෙහෙම දෝස තියෙන කාමයන් ඇසුරු කිරීමෙන් සිද්ධ වෙන්නෙ දුකක් විඳින එක විතරයි. ඔහොම ටික ටික ආදීනවය නුවණින් දකින කෙනාට කාමයන් කෙරෙහි තියෙන ඇල්ම ක්‍රමයෙන් නැති වෙනවා. ඒකත් අර නුවණින් දැක්ක නිසා. මේකට කියනවා නිස්සරණය කියල. නුවණින් සැපය සැපය විදිහට දැක්ක කෙනාට තමයි ඒකෙ ආදීනව නුවණින් පේන්නෙ. මේ ආදීනව නුවණින් පෙනුන කෙනා විතරයි ඒකෙන් මිදෙන්නෙ. ඒක බුද්ධ සාසනය තුල මිසක් වෙන තැනක නෑ.

ඉතින් ඔය විදිහට ලොව්තුරා බුදුන් වහන්සේ ආස්වාදය, ආදීනවය, නිස්සරණය ලෝකෝත්තරව පහදල දුන්නා. අපිත් දැන් ලෝකෝත්තර දහම ලෞකික දහමෙන් වෙන් කරන හැටි දන්නවා. ආස්වාදය ආස්වාදය හැටියටත්, ආදීනවය ආදීනවය හැටියටත්, නිස්සරණය නිස්සරණය හැටියටත් නුවණින් දැකිය යුතුයි. ඒ අනුව ලෝකෝත්තර, ලෞකික දහම වෙන් කරගන්න පුළුවන්.

*පූජ්‍යපාද වෑහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් නැවත මතු කරන ලද සැඟවුනු දහම් කරුණු සමගින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු**
**ගොතටුව**
**076-3446839**

# කාරුණික දැනුම් දීමයි

හෙළ බොදු පියුම දහම් සඟරාව දිවයිනේ දැනට ලබාගත නොහැකි කුරුණෑගල, දිගාමඩුල්ල, ත්‍රිකුණාමලය සහ වව්නියාව යන දිස්ත්‍රික්කවල පින්වතුන් සඟරාව ලබාගැනීමට සලස්වන ලෙසට ඉල්ලීම් කර ඇත. මෙම සඟරාව දැනට බෙදාහරිනු ලබන ස්ථාන භාර පින්වතුන් මෙන් කිසිදු මූල්‍යමය ලාභ අපේක්ෂාවකින් තොරව උතුම් සාසනික කටයුත්තක් ලෙස සලකා එකී සත්කාර්යට දායක විය හැකි ඉහත කී දිස්ත්‍රික්කවල ස්ථාන භාර පින්වතුන් ඇත්නම් ඒ සඳහා ඉදිරිපත් වන ලෙස කාරුණිකව දැනුම් දෙනු ලැබේ. **විමසීම්: 071-3046895**



# පෙළ දහමේ සැඟවුනු තැන් සොයා... 01

ලොවිතුරා බුදු පියාණන් වහන්සේ විසින් ලෝකයාගේ හිත සුව පිණිස මේ දහම දේශනා කරන්න කියල ශ්‍රාවක සංඝයා වහන්සේලාට අනුදැන වදාළේ, පොත් බලල කට පාඩම් කරගෙන ඒවාට කොටු වෙලා නෙවෙයි. දහම් අවබෝධයෙන්මයි දේශනා කරන්න කියල අනුදැන වදාළේ. ඒ කාලෙ දැන් වගේ පොත්පත් තිබුනෙත් නෑ. දහම් අවබෝධය ලබපු අය මුඛ පරම්පරාවෙන් තමයි මේ දහම හේතු වාසනා තියෙන පින්වතුන් අතරට ගෙන ගියේ. ඒකට තමයි කළණ වැට කියල කිව්වෙ.

කෙනෙක් ඒ විදිහට දහම් අහල අවබෝධයට පත් වුනාම, ඒ අවබෝධ වෙච්ච දේ ලෝකයාට දේශනා කරන්න අමුතුවෙන් පොත්පත් බලන්න, ඒවාට සීමා වෙන්න ඕන නෑ. එහෙම පොත්පත්වලට කොටුවෙච්ච දහමක් නෙවෙයි බුදු දහම කියන්නෙ. නමුත් අද වෙනකොට භික්ෂූන් වහන්සේ නමක් හෝ ගිහි පින්වතෙක් හෝ තමන්ගෙ අවබෝධයෙන්, මෙච්චර කාලයක් අහන්න නොලැබිච්ච ධර්ම දේශනාවක් කළොත්, ඒක මොන පොතේ මොන පිටුවෙද තියෙන්නෙ, ත්‍රිපිටකයේ කොහෙද තියෙන්නෙ... ආදී වශයෙන් කෙළවරක් නැති ප්‍රශ්න අහන, භාෂා ව්‍යාකරණ, සාහිත්‍ය... ආදී පොතපතට සීමා වෙච්ච දේ තුලින් ලෝක සම්මත උගත්තු බවට පත්වෙච්ච අය තමයි බොහොමයක් ඉන්නෙ.

මෙතනදි ත්‍රිපිටක පෙළ දහම තෝර ගන්නත්, සම්මත භාෂා ව්‍යාකරණ රීති හදාරල පොතපතින් ඉගෙන ගත්ත අයට බැරි බව ඒ හුඟක් අය දන්නෙ නෑ. නමුත් බුද්ධ දේශනාවට අනුව අත්ථ, ධම්ම, නිරුක්ති, පටිභාන කියන සිවුපිළිසිඹියා ඥාන නැත්නම් ඒක තෝරගෙන විග්‍රහ කරන්නත් බෑ. කොහොම හරි මේ ග්‍රන්ථාරූඪගත කරල තියෙන ත්‍රිපිටක පෙළ දහම අනිවාර්යෙන් පරිහරණය කරල බණ කියන්න කියල නීතියක් කොහෙවත් නෑ. බුදුන් වහන්සේ එහෙම දෙයක් දේශනා කරලත් නෑ. නමුත් අපේ ආර්ය මහා සංඝ රත්නය දිවි හිමියෙන් මුඛ පරම්පරාවෙන් රැකගෙන ඇවිත් අද වෙනකොට ග්‍රන්ථාරූඪගත කරල තියෙන පාළි ත්‍රිපිටක පෙළ දහමේ, ලොවිතුරා බුදුන් වහන්සේ ඇතුළු එදා වැඩ සිටි මහ රහතන් වහන්සේලා විසින් දේශනා කොට වදාළ බොහොම වටිනා දහම් කොටස් ඉතාමත් සංක්ෂිප්තව දක්වා තියෙනවා. **හැබැයි ඒ ත්‍රිපිටක පෙළ දහමේ බුදුන් වහන්සේ දේශනා කළ සියළුම දහම් කොටස් විස්තර සහිතව අන්තර්ගතයි කියල කිව්වොත් ඒක සම්පූර්ණයෙන් වැරදි නිගමනයක්. මොකද උන්වහන්සේ දේශනා කළ අසූ හාර දහසක් ධර්මස්කන්ධය විස්තර සහිතව පොත්වලට ලියන්න ගියොත් මුළු ලෝකෙම තියෙන කඩදාසිත් මදි වෙනවා.** අවුරුදු 45 ක් තිස්සේ දේශනා කරපු ධර්මය මෙච්චරයි කියල කියන්න පුළුවන්ද? ත්‍රිපිටකයේ ඒවා ලියල තියෙන්නෙ මාතෘකා විදිහට. හරියට ගණන් පාඩමක අන්තිමට සියල්ල කැටි කරල ගන්න සූත්‍ර, එහෙම නැත්නම් සමීකරණ වගේ. වැඩි විස්තරයක් නෑ. හැබැයි ධර්මාවබෝධය ලබපු කෙනෙකුට මාතෘකාව දැක්කම විස්තර සහිතව දේශනා කරන්න පුළුවන්.

ඒ නිසා මේ ත්‍රිපිටක පෙළ දහමෙ තියෙන්නෙ බොහොමයක් දේශනාවල මාතෘකා පාළිය විතරයි. ඉතිරි ටික තෝරගන්න ඕන දහම් අවබෝධයෙන් මිසක් කට පාඩම් කරගෙන නෙවෙයි. එහෙම අවබෝධ වුනාට පස්සෙ ඒ අවබෝධයට සීමා පනවන්න බෑ.

කොහොම හරි මේ වෙනකොට සැඟවිලා තියෙන දහමේ යම් යම් කොටස් තෝරගන්න දහම් අවබෝධය ලබපු ශ්‍රාවකයින්ට නම් මේ ත්‍රිපිටක පෙළ දහම තුලින් පුළුවන්. නමුත් ඒකටම ඇලිල ගැලිල ඉන්න අවශ්‍ය නෑ.

හැබැයි යම් කිසි කෙනෙක් බුදු දහමයි කියල වැරදි දහමක් කියනකොට, ත්‍රිපිටක පෙළ දහමින් කරුණු අරගෙන ඒකෙ සදොස් තැන් පෙන්වා දීම සුදුසු නෑ කියල ඒකෙන් අදහස් කරන්නෙ නෑ. ඒ වගේ වෙලාවට ඒ සදොස් තැන් පෙන්වා දීල ඒ වැරදි මත බිඳින්න මේ ත්‍රිපිටක පෙළ දහම බොහොම වැදගත්. නමුත් ඒ කාරණය තේරුම් ගන්නෙ නැතිව, නිකං ලෞකික අවබෝධයක් තුල හිරවෙලා, ත්‍රිපිටකයේ ඕවා නැතැයි කියමින් ලෝකෝත්තර අවබෝධයෙන් දහම් දේශනා කරන අයට අභූතයෙන් චෝදනා කිරීම ගැලපෙන්නෙ නෑ. නමුත් ඒක තමයි අද බොහෝකොටම සිද්ධ වෙන්නෙ. ඒ නිසා තමයි පොත්පත්වලට සීමා වෙලා කොටු වෙලා ඉන්න එපා කියන්නෙ.

වහරක අභයරතනාලංකාර හාමුදුරුවොත් මේ සැඟවුනු දහම දේශනා කළේ අවබෝධයෙන් මිසක් පොත්පත්වල එල්ලිලා නෙවෙයි. එහෙම පොත්පත්වලින් විතරක් කරුණු හොය හොයා කියන්න ගියා නම්, වටිනා කාලය නිකං නාස්ති වෙන එක විතරයි වෙන්නෙ. හැබැයි උන්වහන්සේ තමන්ට උප්පත්තියෙන්ම ලැබිච්ච දහම් අවබෝධයත් එක්ක මේ ත්‍රිපිටක පෙළ දහමට අයත් පොත්පත් සියල්ලම කියවල තිබුනා. ඒ නිසා තමන් වහන්සේ ලබපු අවබෝධයත් එක්ක ඒ ත්‍රිපිටක පොත්වල තියෙන දහම් කරුණු හොඳින්

ගැළපෙන බව, වඩාත් තහවුරු වන බව උන්වහන්සේ නිතරම ප්‍රකාශ කළා. එහෙම නැතිව හැමතිස්සෙම ත්‍රිපිටකයේ අහවල් සූත්‍රයේ අහවල් පිටුවේ මේ මේ කාරණා තියෙනව කියල කට පාඩම් කරගෙන කියන්න ගියේ නෑ. මොකද ඒක අනවශ්‍ය මහ වෙහෙසක්.

හැබැයි උන්වහන්සේ මේ වටිනා ත්‍රිපිටක දහම් පොත් පෙළ අවබෝධයෙන් යුක්තව පර්යේෂණාත්මකව කියවල, මූලික පාළි ත්‍රිපිටකයත් එක්ක සිංහල පරිවර්තනයේ තියෙන සමහර නොගැළපෙන තැන් හේතු ඇතිව, මේ ගැන විමර්ශනය කරල බලන්න කියල බොහොම නිහතමානීව පෙන්වා දුන්නා. ඒ විදිහට උන්වහන්සේ විසින් ත්‍රිපිටකයේ තියෙන වැදගත් දහම් කාරණා, සූත්‍ර සහ සමහර අවස්ථාවල පිටු අංකත් සමග ඉතාමත් කෙටියෙන් සටහන් කරපු දින පොතක් මේ ළඟදි මා අතට පත් වුනා. උන්වහන්සේගේ අත් අකුරින් සංක්ෂිප්තව සටහන් කරල තිබ්බ්ච ඒ දින පොතේ, මේ වෙනකොට සැඟවිලා තියෙන බොහොමයක් දහම් කරුණු ත්‍රිපිටකයේ අහවල් තැන තියෙනව කියල උපුටා ගැනීම් සහිතව දක්වා තිබුනා. ඒ සටහන්, අද ලෞකික සාස්ත්‍ර, භාෂා ව්‍යාකරණ... ආදිය හදාරල, පොත්පත්වල තියෙන මතුපිට අර්ථවලට සීමා වෙලා, මේ සැඟවුනු දහමට එරෙහිව පහර ගහන උදවියගෙ ඇස් ඇරවන්නත්, ඇත්ත වශයෙන්ම අවබෝධය සඳහා මේ දහම හොයන පින්වතුන්ට, දේශනා කරන පින්වතුන්ට ත්‍රිපිටක පෙළ දහමින් සාක්ෂි පෙන්වන්නත් බොහොම වැදගත්.

ඒ නිසා උන්වහන්සේ විසින් ත්‍රිපිටකය අනුසාරයෙන් සටහන් කරන ලද ඒ සූත්‍ර නාම ඇතුළු දහම් කොටස් ඒ ආකාරයෙන්ම මේ සඟරාවෙ පළ කරන්න තීරණය කළා. ඒ සමහර දහම් කරුණු පින්වතුන් විසින් මීට පෙර අහල තිබෙන්න පුළුවන් වුනත්, විවිධ තර්කවාදීන් ඕවා කොහෙද තියෙන්නෙ කියල ඇහුවම එහෙම තියෙන තැන් දැනගෙන ඉන්න නැතුව ඇති. ඒ වගේම ඒ සමහර දහම් කරුණු මතුපිට තියෙන සිංහල අර්ථය විතරක් බලල වැරදියට තේරුම් අරගෙනත් ඉන්න ඇති. ඒ නිසා ඒ සුලභ දහම් කරුණුත් පින්වතුන්ගේ දැනගැනීම පිණිස ත්‍රිපිටකයේ සූත්‍ර නාම සමගින්, සමහර අවස්ථාවල පිටු අංකද සහිතව අභයරතනාලංකාර හිමියන් විසින් සටහන් තබන ලද ඒ දින පොතෙන් උපුටගෙන මේ විදිහට පළ කරනවා.

**දීඝ නිකාය 2**

මහා පරිනිබ්බාණ සූත්‍රය - වජ්ජීන්ට දෙසූ සප්ත අපරිහානීය ධර්ම

1. නිතර එක්රැස් වී සාකච්ඡා කිරීම
2. සමගිව රැස් වී සමගිව විසිර යෑම
3. පෙර රජ පරපුර නොපැන වූවක් නොපනවත්, පැන වූවක් නොසිඳිත්, පෙර පනවන ලද පරිදි ධර්මානුකූලව පිළිපදිත්.
4. වැඩිහිටි මහළු අයට ගරු සත්කාර කරත්.
5. කුල ස්ත්‍රීන් කුල කුමරියන් බලහත්කාරයෙන් නොම ගෙන යත්.
6. වජ්ජි රටේ චෛත්‍ය දෙවොල්වලට ධාර්මිකව ගරු සත්කාර කරත්.
7. වජ්ජි රටට පැමිණෙන රහතුන් වහන්සේලාට ගරු සත්කාර කරත්.

ඒ සූත්‍රයේම සුනීධ වස්සකාර ඇමතියන් විසින් පාඨලී ග්‍රාමයේ නුවරක් තැනීමත්, අල්පේ ශාක්‍ය - මධ්‍යම ශාක්‍ය - මහේ ශාක්‍ය දේවතාවන් ඒ ඒ ස්ථානයට ගම්බිම් අරක්ගත් විට අනුකූලව රජ, ඇමති... ආදීන්ගේ සිත් නැමීම සහ අනුකූල සංවර්ධනය වන අයුරුත්, බුදුන් සහ රහතුන් උදෙසා දන් දී දෙවියන්ට පින් අනුමෝදන් කරන විට සතුටු වන දේවතාවෝ ඒ අයව ආරක්ෂා කරන හැටිත්, දෙවියන්ගේ ආරක්ෂාව ලබන ඔවුන්ට අභිවෘද්ධියක් මිස පිරිහීමක් නොවන හැටිත් වදාරා ඇත.

**මජ්ඣිම නිකාය - 1**

සබ්බාසව සූත්‍රය - 21 පිටුව

ආශ්‍රව පහ කරන ක්‍රම.

1. දර්ශනයෙන් (සෝවාන් මග නුවණින්)
2. සංවරයෙන්
3. ප්‍රත්‍යවේක්ෂාවෙන් හෙවත් ප්‍රතිසේවනයෙන්
4. අධිවාසනායෙන් හෙවත් සීත, උෂ්ණ, මැසි, මදුරු ආබාධ ඉවසීමෙන්
5. පරිවජ්ජනා හෙවත් වර්ජනය කිරීමෙන්
6. විනෝදනයෙන් හෙවත් කාම, ව්‍යාපාද, විහිංසා දොස් දැක දුරු කිරීමෙන්
7. භාවනාවෙන් (බොජ්ඣංග වැඩීමෙන්)

මහා ගෝසිංග සූත්‍රය - 518 පිටුව - 21, 22 ගාථා කොටස් තුල, එල සමවත අරණ්‍ය ගතවීම ලෙසත්, විදර්ශනාව ශුන්‍යාගාරය ලෙසත් සළකා ඇති බව පෙනේ.

චූල්ල සච්චක සූත්‍රය - 559 පිටුව - 24 ඡේදය

රාග, ද්වේශ, මෝහ සහිත පෘතජ්ජනයෙකු වන සච්චකට දුන් දානයක පින ඒ දායකයන් හට වන බවත්, ඒ දුන් දානයෙන් බුදු රජුන්ට පූජා කළ පින සච්චකට හිමි වන බවත් පෙන්වා ඇත.

මහා ධම්ම සමාදාන සූත්‍රය - 741 පිටුව

ලෝහිත පක්ඛන්ධික රෝගයට දී කිරි, මී පැණි, ගිතෙල් පාන යන මේවා ගුණ බව පෙන්වයි.

**මජ්ඣිම නිකාය 2**

මහා රාහුලෝවාද සූත්‍රය - 147 පිටුව

ආපෝ, තේජෝ, වායෝ, පඨවි, ආකාස මුල් කරගෙන භාවනා කරන අයුරු පෙන්වා ඇත. එය විසුද්ධි මාර්ග යේ පෙන්වන කසිණ භාවනා ක්‍රමය නොවේ.

කීටාගිරි සූත්‍රය - 247 පිටුව

සද්ධානුසාරී හා ධම්මානුසාරී පුද්ගලයා පෙන්වන තැන "යේ තේ සන්තා විමොක්ඛා අතික්කම්ම රූපේ ආරුප්පා තේ..." යනුවෙන් පෙන්වා ඇත. මෙයට සිංහල අර්ථ වශයෙන් "යම් පුද්ගලයෙක් රූප සමාපත්තීන් ඉක්මවා ආරූප්‍ය වූ යම් ශාන්ත විමෝක්ෂ කෙනෙක් ඇත්ද" යනුවෙන් පෙන්වා ඇත. මෙසේ අර්ථ ගතහොත් ආර්ය වූ සියල්ලෝම රූප ධ්‍යාන ලාභීන් ලෙස සිතන්නට සිදුවිය හැකිය. මෙය විමසිය යුතු තැනකි.

තේවිජ්ජ වච්ඡගොත්ත සූත්‍රය - 255 පිටුව

ස්වර්ගයට කය බිඳීමෙන් පසු පැමිණි එක් තීර්ථකයෙකුද නැති බවත්, කල්ප 91 ක් සිහි කර බැලුවද හමු නොවූ බවත් පෙන්වයි.

මාගන්දිය සූත්‍රය - 299 පිටුව

ආරෝග්‍යා පරාමා ලාභා - නිබ්බානං පරමං සුඛං

අට්ඨංගිකෝච මග්ගානං - ඛමං අමතගාමිනන්ති

මේ විස්තරයේ, ආරෝග්‍ය නම් උපාදානස්කන්ධ, ගන්ඩයක්, සල්‍යයක්, රෝගයක් ලෙස දැක උපාදාන නිරෝධයෙන්, පටිච්ච සමුප්පාද නිරෝධයෙන් ලබන නිවන නිරෝගී සුවය ලෙස දැකගත යුතු බව පෙන්වයි.

සන්ධක සූත්‍රය - 311 පිටුව - දස වස්තුක මිථ්‍යා දෘෂ්ටිය

නත්ථි දානං නත්ථි යිට්ඨං නත්ථි හුතං නත්ථි සුකට දුක්ඛටානං කම්මානං ඵලං විපාකං නත්ථි අයං ලෝකෝ නත්ථි පරෝ ලෝකෝ නත්ථි මාතා නත්ථි පිතා නත්ථි සත්තා ඕපපාතිකා නත්ථි ලෝකේ සමණ බ්‍රාහ්මණා සම්මග්ගතා සම්මා පටිපන්නා යේ ඉමංච ලෝකං පරම ලෝකං සයං අභිඤ්ඤා සච්චිකත්වා පවේදෙන්ති

මඛාදේව සූත්‍රය - 465 පිටුව
ලෞකික සතර බ්‍රහ්ම විහරණ බඹ ලොව ඉපදීමට පමණක් සීමා වන බවත්, ආර්ය අෂ්ඨාංගික මාර්ගය නමැති කළණ වැට නිවනට හේතුවන බවත්, යම් පුරුෂ යුගයක මේ මග සිඳේද, ඒ මේ සසුනෙහි අන්තිම පුරුෂයා වන බවත් පෙන්වා ඇත.

මධුර සූත්‍රය - 479 පිටුව
පිරිනිවීමෙන් පසුද බුදුන් සරණ යා හැකි බව පෙන්වයි.

පිය ජාතික සූත්‍රය - 535 පිටුව
සෝක, පරිදේව, දුක්, දොම්නස්... ආදිය ප්‍රිය දේ නිසා හට ගන්නා බව.

කන්ණකත්ථල සූත්‍රය - 565 පිටුව
සියල්ල දන්නා සියල්ල දක්නා නිරවශේෂ ඥාන දර්ශනය ඇති කිසිම මහණ බමුණු කෙනෙක් නැතැයි කීම බුදු රජුන්ට කරන අපවාදයක් බවත්, බුදු රජුන් එසේ නැති බව නොකියන බවත් පෙන්වා ඇත. 573 පිටුවේ සබ්බඤ්ඤු බව (සර්වඥතා බව) ප්‍රකාශ කර ඇත. එය කොසොල් රජුට ප්‍රකාශ කළ බව සඳහන් වේ.

බ්‍රහ්මායු සූත්‍රය - 577 - 597 පිටු
බුදුවරයෙකුගේ ලක්ෂණ සහ චරියාව පිළිබඳව වේදයේ තිබූ බව, බ්‍රහ්මායු බමුණු තම අතවැසි උත්තර මානවකට ඉගැන් වූ හැටිත්, මාස 7 ක් බුදු රජුන් පසුපස ගොස් ඒවා එසේම දැනගත් හැටිත් සඳහන් වේ.

අස්සලායන සූත්‍රය - 623 පිටුව
ඍෂිවරුන්ගේ සාප ඇති බවට නිදසුන් ඇත. වසලය හෂ්ම වේවයි කීවොත් අළු වන බව පෙන්වයි.

සුභ සූත්‍රය - 731 පිටුව
මෛත්‍රී චේතෝ විමුක්තිය වැඩූ කල්හි කාමාවචර වූ ප්‍රමාණවත් කර්ම ඉතිරි නොවී ගෙවෙන බව පෙන්වයි.

සංගාරව සූත්‍රය - 753 පිටුව
ආහාර සහමුලින් වැළකුවොත් දෙවියන් දිව්‍ය ඕජස් බහාලන බව කී බැවින් බෝසතාණෝ එය නොකළ බව කියවේ.

**මජ්ඣිම නිකාය 3**

මහා පුන්නම සූත්‍රය - 119 පිටුව
රූප ස්කන්ධය පැනවීමට හේතුව සතර මහා භූත
වේදනා ස්කන්ධය පැනවීමට හේතුව ස්පර්ශය
සංඥා ස්කන්ධය පැනවීමට හේතුව ස්පර්ශය
සංඛාර ස්කන්ධය පැනවීමට හේතුව ස්පර්ශය
විඤ්ඤාණ ස්කන්ධය පැනවීමට හේතුව නාමරූප

සළායතන විභංග සූත්‍රය - 459 පිටුව
සාස්තෘත්වයට නිසි භික්ෂූන් වහන්සේ ගැනත්, එම අය අනුත්තරපුරිසධම්මසාරථී වන බවත් පෙන්වා ඇත.

දක්ඛිනා විභංග සූත්‍රය - 523 පිටුව
ආර්ය මාර්ගය පෙන්වා දුන් කෙනාට කොතරම් උදව් කළත්, ප්‍රතිඋපකාර කිරීම ගෙවා සම්පූර්ණ කළ නොහැකි බව හා පුද්ගලික දාන 14 ගැන කියැවේ.

චූල රාහුලෝවාද සූත්‍රය - 575 පිටුව
යමක් අනිච්ච නම්, දුක්ඛ නම්, අනත්ත නම්, විපරිනාමික නම් මම යැයි ගන්න, මගේ යැයි ගන්න, හරවත් යැයි ගන්න සුදුසු නැත යනුවෙන් පෙන්වයි. (මම නෙවෙයි, මගේ නෙවෙයි, මගේ ආත්මය නෙවෙයි යනුවෙන් කීමට වඩා එසේ කීම සුදුසු බව පෙනේ.)

මහා සළායතනික සූත්‍රය - 599 පිටුව
ආදීනව මෙනෙහි කරන විට සත්තිස් බෝධි පාක්ෂික ධර්ම වැඩෙන බවත්, සමථ විදර්ශනා යුගනද්ධව වැඩෙන බවත්, නිවන ලබන බවත් පෙන්වයි.

ඉන්ද්‍රිය භාවනා සූත්‍රය - 619 පිටුව
ඉන්ද්‍රිය භාවනාව වඩන හැටිද, විදර්ශනා උපේක්ෂාව ඇසි පිය හෙළන තරම් මොහොතකදී වැටහුනොත් එවිට අනුත්තර වූ ඉන්ද්‍රිය භාවනාව වැඩෙන බවද පෙන්වයි. මනාප අමනාප ඇති වී පසුව ඒ කෙරෙහි ලැජ්ජා උපදීද මෙය අනුත්තර ඉන්ද්‍රිය භාවනාව බව.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# වරදවාගත් කායානුපස්සනාව



බුද්ධාංකුරයන් වහන්සේ නමක් අති දීර්ඝ කාලයක් සමතිංසත් පාරමී ධර්ම සපුරල නෛරානික (නිවැරදි) අමා දහම ලොවට විද්‍යමාන කරනවා. ගෞතම බුදු රජුන් ජීවමාන කාලයේම, සාති වගේ භික්ෂූන් ධර්මය වැරදි විදිහට අර්ථ කථනය කරපු බව සඳහන් වෙනවා. තථාගත පරිනිර්වාණයෙන් පසු මේ තත්ත්වය තවත් වර්ධනය වෙමින් අද දක්වා සද්ධර්ම ප්‍රතිරූපක, ධර්මය විදිහට විවරණය කරන ගිහි පැවිදි දෙපාර්ශවයම ඉන්නවා. ඒක ධර්මය අතුරුදහන් වෙලා සාසන පරිහානියට හේතුවන ප්‍රබල කාරණයක්.

ද්වේ මේ භික්ඛවේ තථාගතං අබ්භාචික්ඛන්ති කතමේ ද්වේ? යෝච අභාසිතං අලපිතං තථාගතේන භාසිතං ලපිතං තථාගතේනාති දීපේති යෝච භාසිතං ලපිතං තථාගතේන අභාසිතං අලපිතං තථාගතේනාති දීපේති (අ. නි. දුක නිපාතය - බාල වර්ගය - 118 පිටුව)

මහණෙනි, දෙදෙනෙක් තථාගතයන් වහන්සේට අභූතයෙන් දොස් කියනවා. කවුද ඒ දෙදෙනා, **තථාගතයන් වහන්සේ දේශනා නොකළ දේ දේශනා කළා කියනව නම්, දේශනා කළ දේවල් එසේ නෙවෙයි කියනව නම් මේ දෙන්නා බුදු හිමිට බොරුවෙන් දොස් කියන අයයි.**

වර්තමානයේ බොහෝ දේශකයන් ඉහත බුද්ධ දේශනාවට අනුව, බුදුන් වහන්සේ දේශනා නොකළ දේවල් දේශනා කළා කියමින් තථාගතයන් වහන්සේට දොස් කියනවා.

සතර සතිපට්ඨානය කියන්නෙ බෞද්ධ බොහෝ අය දන්න, විමුක්ති මාර්ගය විවරණය කරපු වැදගත් දේශනාවක්.

"ඒකායනෝ අයං භික්ඛවේ මග්ගෝ සත්තානං විසුද්ධියා සෝක පරිද්දවානං සමතික්කමාය දුක්ඛ දෝමනස්සානං අත්ථංගමාය, ඤායස්ස අධිගමාය නිබ්බාණස්ස සච්ඡිකිරියා යදිදං චත්තාරෝ සතිපට්ඨානා (දී. නි. II මහා සතිපට්ඨාන සූත්‍රය)

සත්ත්වයාට කෙලෙස්වලින් පිරිසිදු වෙලා, සෝක පරිදේවයන් ඉක්මවල, සිවු අරිසස් ඥාණය තුලින් නිවන පූර්ණ කරගන්න තියෙන ඒකායන මාර්ගය සතර සතිපට්ඨානයයි.

කාය, වේදනා, චිත්ත, ධම්ම වශයෙන් සතර සතිපට්ඨානය හඳුන්වල තියෙනවා. මේ ලිපියෙන් විශේෂයෙන් විස්තර කරන්න බලාපොරොත්තු වෙන්නෙ කායානුපස්සනාව පිළිබඳව. මේක විශේෂ මාතෘකාවක් කරගන්න හේතු වුනේ, වර්තමානයේ සමහර උදවිය කායානුපස්සනාව වැරදි විදිහට අර්ථ කථනය කරගෙන වැරදි වැටහීමක් ඇති කරගෙන තියෙන නිසා, ත්‍රිපිටක පෙළ දහමේ බුද්ධ දේශනා තුලින් කරුණු ඉදිරිපත් කරල සැබෑ කායානුපස්සනාව මතු කරල පෙන්වා දෙන්න මිසක් පුද්ගල ප්‍රහාරයකට නොවන බව තේරුම් ගන්න ඕන.

මෙතෙක් කාලයක් ශ්‍රී සද්ධර්මය යටපත් වෙන්න හේතු වුනෙත් බුද්ධ වචනයට වැරදි අර්ථකථන දීම. මේ යුගයේ අති දුර්ලභව නැවත මතු වෙලා තියෙන ශ්‍රී සද්ධර්මයට නැවතත් වැරදි අර්ථකථන සපයන්න ගියොත් සිද්ධ වෙන්නෙ දේශක, ශ්‍රාවක දෙපක්ෂයටම අගතියක්. ඒ නිසා දේශක පක්ෂය ධර්මය විග්‍රහ කරන්න යනකොට පෞද්ගලික මත ධර්මය විදිහට ඉදිරිපත් කරන්න යාමෙන් වළකින්න ඕන.

අංගුත්තර නිකායේ (II) චතුක්ක නිපාතයේ 284 පිටුවේ එන සුගත විනය සූත්‍රයේ සද්ධර්මය විනාස වෙන්න, අතුරුදහන් වෙන්න හේතු වන කරුණු හතරෙන් පළවෙනි කාරණය විදිහට සඳහන් වෙන්නෙ, වැරදි පද ව්‍යඤ්ජන සහිතව සූත්‍රාන්ත ඉගෙනීම. එසේ ඉගෙනීමෙන් අර්ථයන් වැරදීමෙන් සදහම් අතුරුදහන් වෙනවා.

අලගද්ද පරියත්ති, නිත්ථරණ පරියත්ති, භාණ්ඩාගාර පරියත්ති කියල පරියාප්ති ධර්මය තුන් ආකාරයකට විස්තර වෙනවා. ම. නි. (I) - 324 පිටුවේ සඳහන් වෙන අලගද්දූපම සූත්‍රයේ, ධර්මය වැරදි විදිහට ගැනීම සර්පයාගේ කඳ මැදින් අල්ලා ගැනීමක් වගේ කියල සඳහන් වෙනවා. මේ කාරණය අලගද්දූපම සූත්‍රයේ මේ විදිහට විස්තර වෙනවා.

සර්පයන්ගෙන් ප්‍රයෝජන තියෙන කෙනෙක් සර්පයෙක් දකල උගේ ශරීරයෙන් හෝ නගුටෙන් හෝ අල්ලනවා. ඒ සර්පයා ආපහු හැරිල ඔහුටම දෂ්ට කරනවා. ඒ හේතුවෙන් ඒ පුද්ගලයා මරණයට හෝ මරණය හා සමාන දුකකට පත් වෙනවා. ඒ වගේ මේ සාසනයේ ඇතැම් හිස් පුරුෂයන් ධර්මය ප්‍රගුණ කරල, ඒ ධර්මයන්ගේ අර්ථය නුවණින් පරීක්ෂා කරන්නෙ නැති නිසා නියම අර්ථය වැටහෙන්නෙ නැතුව යනවා, ධර්මය හැදෑරීමේ ප්‍රතිඵලයක්

නොලබන කෙනෙක් වෙනවා. වරදවා ගන්නා ලද ඒ ධර්මය ඔවුන්ට බොහෝ කලක් අහිත පිණිස, දුක් පිණිස පවතිනවා. ඒකට හේතුව තමයි ධර්මය වැරදි විදිහට ගැනීම. මේ කාරණය අලගද්ද පරියත්ති කියල හඳුන්වනවා.

**තථාගත ශ්‍රී සද්ධර්මය තියෙන්නෙ සසරින් එතෙර වෙන්න මිසක් අල්ලගෙන ඉන්න නෙවෙයි.** "කුල්ලූපමං වෝ භික්ඛවේ ධම්මංදේසිස්සාමි නිත්ථරණත්ථාය නෝ ගහණත්ථාය" මහණෙනි මම, ඔරුව උපමා කරල ඔබලාට දහම් දේශනා කරනවා. ඒක එතෙර වෙන්න මිසක් ග්‍රහණය කරගන්න නෙවෙයි.

මේ විදිහට සසරින් එතෙර වෙන්න ධර්මය උපකාර කර ගැනීම නිත්ථරණ පරියත්ති කියල හඳුන්වනවා. ධර්මය මැනවින් හදාරල බහුශ්‍රැත වෙලා ආනන්ද හාමුදුරුවො වගේ ධර්ම භාණ්ඩාගාරික වීම භාණ්ඩාගාර පරියත්ති විදිහට හඳුන්වනවා.

සතර සතිපට්ඨානයේ කායානුපස්සනාව වර්තමානයේ සමහර උදවිය වරදවා අර්ථකථනය කරගෙන තියෙන්නෙ මේ විදිහට. කායේ කායානුපස්සී විහරති... ආදී වශයෙන් විස්තර වෙන තැන, කායේ කියන්නෙ විපාක කය කියලත්, කායානුපස්සී කියන තැන කාය කියන්නෙ ආස්වාද කය කියලත් අලුත් අර්ථකථනයක් මතු කරල තියෙනවා. මේක තනිකරම සද්ධර්ම ප්‍රතිරූපකයක්.

"කායේ කායානුපස්සී" කියන තැන කාය ශබ්දය දෙපොළක සඳහන් වෙන නිසා තමයි විපාක කය සහ ආස්වාද කය කියල කයවල් දෙකක් තියෙන විදිහට වැරදි අර්ථකථනයක් හදාගෙන තියෙන්නෙ. නමුත් සතිපට්ඨාන සූත්‍රය ඇතුළු කායානුපස්සනාව විස්තර වෙන කිසිම සූත්‍ර දේශනාවක කයවල් දෙකක් තියෙන බවක් සඳහන් කරල නෑ. ඒ නිසා මේක අත්තනෝ මතයක් බව පළමුව වටහගන්න ඕන.

"කායේ කායානුපස්සී" **කයෙහි කය අනුව බැලීම කියන්නෙ, සිතේ පහළ වෙන රාගාදී කෙළෙස් දුරු කර ගන්න මස් ලේ කය විශ්ලේෂණය කරල බැලීම මිසක් කයවල් දෙකක් ගැන විස්තරයක් නෙවෙයි.** කාය කියන වචනය දෙපොළක යෙදුනයි කියල, කයවල් දෙකක් කියවෙනව කියල අදහස් ගැනීම වැරදියි. මේ මස් ලේ ශරීරයම "අනුපස්සනා" හෙවත් අනිච්ච, දුක්ඛ, අනත්ත විදිහට බැලීමයි ඒකෙන් කියවෙන්නෙ. මෙතනදි කයවල් දෙකක් ගැන විස්තර වෙනව නම්, කායානුපස්සනාවට දීල තියෙන විස්තරය තුල ඒ කාරණය ඇතුලත් වෙන්න ඕන. නමුත් එහෙම විවරණයක් ඒ විස්තරයේ පළාතකවත් නෑ.

උදාහරණ උපමා කියන්නෙ යමක් පැහැදිලි කර ගන්න තියෙන හොඳ මිනුම් දණ්ඩක්. "මේ මේසයේ මේස කකුල කැඩී ඇත." මේ වාක්‍යයේ මේසය කියන වචනය දෙපොළක යෙදුනයි කියල මේස දෙකක් ගැන කියවෙන්නෙ නෑ. එකම මේසයේ කකුල කැඩුන බවයි ඒකෙන් කියවෙන්නෙ. වාක්‍යයක් ලියනකොට ඒ විදිහට සඳහන් කරන්න වෙනවා. ඒ වගේ වාක්‍ය අනුසාරයෙන් "කායේ කායානුපස්සී" කියන්නෙත්, කයේ කාය අනුපස්සනා කරන්න කියන එක මිසක් කයවල් දෙකක විස්තරයක් නෙවෙයි.

ඉතිරි සතිපට්ඨාන තුනෙත් මේ ආකාරයෙන්ම වේදනාසුවේදනානු-පස්සී, චිත්තේ චිත්තානුපස්සී, ධම්මේසු ධම්මානුපස්සී වශයෙන් එක වචනය දෙපොළක යෙදිල තියෙනවා. එහෙම තිබුනයි කියල වේදනා වර්ග දෙකක්, සිත් වර්ග දෙකක්, ධර්මතා දෙකක් වශයෙන් විස්තර වෙන්නෙ නෑ. මේ අනුව **"කායේ කායානුපස්සී" කියන එකට විපාක කය සහ ආස්වාද කය කියල අර්ථ දැක්වීම ධර්මානුකූල නෑ.**

ඊළඟ කාරණය තමයි ලෙඩ වෙන කය, ජරාවට පත් වෙන කය, වයසට යන කය, මැරෙන කය සහ කය කෑලිවලට වෙන් කරල බැලීම කියන මේවා නිවන් මගට අදාළ නැතැයි කීම. මේ අදහසත් බුද්ධ දේශනාවට පටහැනියි. **ආර්ය මාර්ගය වඩන කෙනාට භෞතික කයේ ස්වභාවය බැලීමක් නැහැයි කියල ගත්තොත් ත්‍රිපිටකයේ බුද්ධ දේශනා රාශියක් ඉවත දාන්න සිද්ධ වෙනවා.** ඒ නිසා මේ කියන කාරණය මහා සතිපට්ඨාන සූත්‍රයේ කායානුපස්සනාවට එකඟද කියල විමසල බලන්න ඕන. මේ කය කොටස්වලට බෙදල බලන ආකාරයක් මේ විදිහට සඳහන් වෙනවා.

පටික්කූල මනසිකාර පබ්බයේ "සෙය්‍යථාපි භික්ඛවේ උභතෝ මුඛා මුතෝලි පූරා නා නා විහිතස්ස ධඤ්ඤස්ස සෙය්‍යථීදං ? සාලිනං, වීහිනං, මුග්ගානං, මාසානං, තිලානං තණ්ඩුලානං තමේනං චක්ඛුමා පුරිසෝ මුඤ්චිත්වා පච්චවෙක්ඛෙය්‍ය, ඉමේ සාලි, ඉමේ වීහි, ඉමේ මුග්ගා, ඉමේ මාසා, ඉමේ තිලා, ඉමේ තණ්ඩුලානි.

"මහණෙනි, හැල් වී, වී, මුං, මෑ, තල, සහල් යන විවිධ ධාන්‍යවලින් පිරුණු, දෙපසෙහිම කට තියෙන මල්ලක් තියෙනවා. ඇස් පෙනෙන මනුස්සයෙක් ඒ මල්ල හලල මේ හැල් වී, මේ වී, මුං, මෑ, තල, මේ සහල් කියල පරීක්ෂා කරන්නෙ යම් විදිහකටද, ඒ ආකාරයෙන් භික්ෂුව පතුලෙන් උඩ, හිස කෙස්වලින් යට සම අවසානය දක්වා තියෙන කෙස්, ලොම්... ආදී කොටස් 32 නුවණින් පරීක්ෂා කර බලමින් කායානුපස්සනාව වඩනවා."

මෙතනදි වෙනත් සැඟවුනු ගැඹුරු පරමාර්ථ අර්ථයක් හෝ විපාක කය, ආස්වාද කය කියල කයවල් දෙකක් ගැන හෝ සඳහන් වෙන්නෙ නෑ. පතුලෙන් උඩ, හිස කෙස්වලින් යට කියන කොට, මේ මස් ලේ ශරීරය ගැන වදාළ දේශනයක් බව ඉතා පැහැදිලිව පේනවා.

ඊළඟට "ධාතු මනසිකාර පබ්බය" තුල මෙහෙම සඳහන් වෙනවා. "සෙය්‍යථාපි භික්ඛවේ දක්ඛෝ ගෝ ඝාතකෝවා ගෝ ඝාතකන්තේවාසීවා ගාවිං වධිත්වා චාතුම්මහාපථේ බිලසෝ පටිවිභජිත්වා නිසින්නෝ අස්ස. ඒවමේව ඛෝ භික්ඛවේ භික්ඛු ඉමමේව කායං යථා ඨිතං, යථා පණිහිතං, ධාතුසෝ පච්චවෙක්ඛති" (දී. නි. මහා සතිපට්ඨාන සූත්‍රය)

මහණෙනි, දක්ෂ ගව ඝාතකයෙක් හෝ අතවැසියෙක් හෝ ගව දෙනක් මරල කොටස්වලට බෙදල වෙන වෙනම හතරමං හංදියක තබා සිටින්නේ යම් සේද, එසේම මේ කයේ පඨවි, ආපෝ, තේජෝ, වායෝ ධාතු තියේ කියල මේ කයම ධාතු වශයෙන් පරීක්ෂා කර බලනවා.

මේ දේශනාව තුලත් මස් ලේ ශරීරය ධාතු වශයෙන් බලන ආකාරය උපමාවකිනුත් ඉතා පැහැදිලිව වදාරල තියෙද්දි, කය කියන්නෙ ☞

ආස්වාද කය කියල, බුද්ධ දේශනාවෙ සඳහන් වෙන්නෙ නැති අමුතු කයක් ගැන සමහරු කතා කරනවා.

නව සීවථිකය තුල විඤ්ඤාණය රහිත වූ කයේ (මළකුණ) පටික්කුල ස්වභාවය ගැන වඩාත්ම විස්තර වශයෙන් දක්වල තියෙනවා. සොහොනට ගිහින් දාපු, මැරිල දවසක් දෙකක් හෝ තුනක් ගිය ඉදිමුනු නිල් වුනු ඕජාව ගලන ශරීරයක් භික්ෂුව යම් විදිහකට දකිනව නම්, තමන්ගෙ කයත් මේ ආකාරයි, ඒක ඉක්මවන්න බෑ කියල නුවණින් සළකා බලනවා.

සොහොනට ගෙනිහින් දමන ලද කපුටන් විසින් කන, උකුස්සන් විසින් කන, ගිජුලිහිණියන් විසින් කන, බල්ලන් විසින් කන, විවිධ සතුන් විසින් කන ශරීරය යම් විදිහකට දකිනවද, තමන්ගෙ ශරීරයත් මෙබඳු ආකාරයි කියල කය ගැන නුවණින් සළකා බලනවා.

සොහොනට ගෙනිහින් දමන ලද මස් ලේ නැති, නහරින් බැඳිච්ච, ඇටසැකිල්ලක් වූ ශරීරයක් යම් විදිහකට දකිනවද, මේ කයත් මෙබඳුය, ඒ තත්ත්වය නොඉක්ම වූයේය කියල මේ කය ගැන නුවණින් දකිනවා.

සොහොනෙහි දමන ලද මස් ලේ නැති, ලේ තැවරුණු, නහරින් බැඳිච්ච, ඇටසැකිල්ලක් බඳු, ඒ වගේම අත් ඇට, පා ඇට, වළලුකර ඇට, කෙණ්ඩා ඇට, කලවා ඇට... ආදිය සතර අතේ එහෙ මෙහෙ ඇට කැලි විසිරුණු, හක් බෙලි කටු වගේ සුදු වුනු මේ ශරීරය නුවණින් විමසා බලනවා.

**ඒ වගේම අවුරුද්දක් පරණ ඇට කැලි ගොඩක් බවට පත් වුන මේ ශරීරය යම් සේද, තමන්ගෙ කයත් මෙබඳු ස්වභාවය ඉක්මවා නැති එකක් කියල නුවණින් විමසා බැලිය යුතු බව නව සීවථිකය තුල විස්තර වෙනවා.**

මේ සියලු විස්තරවලින් පෙනී යන්නෙ මේ කැලි 32 කින් යුතු මස් ලේ ශරීරයට සිද්ධ වෙන ස්වභාවයන් නුවණින් දකල රාගාදී කෙළෙස් පහ කරගන්න හැටි මිසක් ආස්වාද කයක් ගැන කියන විස්තරයක් නෙවෙයි.

මස් ලේ ශරීරයේ ලෙඩ හැදෙන ඒවා, ජරාවට පත් වෙන ඒවා බලන්න ඕන නෑ කියන අය, ඕව ඔහොම විස්තර කරල තිබුනට මෙතනදි ගැඹුරු අර්ථයක් තියෙන බව කියමින් කයේ යථාර්ථය බැලීමක් නැති බව පවසනවා.



කායානුපස්සනාවේ මේ විස්තරය බලන ඕනෑම කෙනෙකුට තේරෙනවා, මේ කියන්නෙ මස් ලේ ශරීරය ගැන මිසක් වෙනත් සැඟවුනු අර්ථයක් ගැන නෙවෙයි කියල.

අ. නි. දුක නිපාතයේ බාල වර්ගයේ 118 පිටුවේ මේ විදිහේ දේශනාවක් සඳහන් වෙනවා. "ද්වේ මේ භික්ඛවේ තථාගතං අබ්භාචික්ඛන්ති කතමේ ද්වේ යෝච නෙය්‍යත්ථං සුත්තන්තං නීතත්ථෝ, සුත්තන්තෝති දීපේති, යෝච නීතත්ථං සුත්තන්තං නෙය්‍යත්ථෝ සුත්තන්තෝති දීපේති"

මහණෙනි, දෙදෙනෙක් තථාගතයන් වහන්සේට අභූතයෙන් චෝදනා කරනවා. නෙය්‍යාර්ථ සූත්‍රය (විස්තර කළ යුතු අර්ථ ඇති) නීතාර්ථ සූත්‍රය කියල කියන කෙනාත්, නීතාර්ථ සූත්‍රය (විස්තර කළ අර්ථ ඇති) නෙය්‍යාර්ථ සූත්‍රය කියල කියන කෙනාත්ය.

මහා සතිපට්ඨාන සූත්‍රයේ කායානුපස්සනාවේ නීතාර්ථ හෙවත් විස්තර කළ යුත්ත තථාගතයන් වහන්සේ විවෘතව පැහැදිලි කරල තියෙනවා. ඒකෙ තවත් සැඟවුනු අර්ථ, පරමාර්ථ ගැඹුරු අර්ථ නෑ. කවුරුහරි කිව්වොත්, මෙතනදි මස් ලේ කය ගැන නෙවෙයි කියන්නෙ, සිත තුල විග්‍රහ වෙන ගැඹුරු අර්ථයක් කියල ඒක නීතාර්ථ දේශනයක් නෙය්‍යාර්ථ කිරීමක් වෙනවා. අනික **සිත පිළිබඳ විග්‍රහ වෙන වෙනම සතිපට්ඨානයක් චිත්තානුපස්සනා වශයෙන් තියෙද්දි, කායානුපස්සනාවත් සිත පිළිබඳ විග්‍රහයක් කිව්වොත්, ඒ සූත්‍රය තුලම පරස්පරයක් ගොඩ නැඟෙනවා** වගේම, ඉහත අංගුත්තර නිකායේ දේශනාව අනුව බුදුන් වහන්සේට අභූතයෙන් චෝදනා කිරීමකුත් වෙනවා. ඒකෙ අවසාන ප්‍රතිඵලය වෙන්නෙ තමන්ගෙ නිවනට වැටක් බැඳ ගැනීම සහ ශ්‍රාවකයාත් අතරමං කිරීම.

නිවන් දකින්න මස් ලේ ශරීරයේ ලෙඩ හැදෙන ඒවා, ජරාවට පත් වෙන ඒවා බලන්න ඕන නෑ කියල කියන අයට ඒ කාරණය වටහාගන්න තවත් වැදගත් දේශනයක් තමයි අ. නි. 6 - 194 පිටුවේ සඳහන් වෙන <u>ගිරිමානන්ද සූත්‍රය.</u> ඒකෙ ආදීනව සංඥාව තෝරල තියෙන්නෙ මේ විදිහට.

කතමාචානන්ද ආදීනව සංඥා, ඉධානන්ද භික්ඛු අරඤ්ඤ ගතෝවා, රුක්ඛමූල ගතෝවා, සුඤ්ඤාගාර ගතෝවා ඉතිපටිසං චික්ඛති බහු දුක්ඛෝ ඛෝ අයං කායෝ බහු ආදීනවෝ ඉති ඉමස්මිං කායේ විවිධා ආබාධා උප්පජ්ජන්ති සෙය්‍යථීදං ? චක්ඛු රෝගෝ, සෝත රෝගෝ...

''මහණෙනි, ආදීනව සංඥාව මොකක්ද? යම් භික්ෂුවක් ආරණ්‍ය, සුන්‍යාගාර, රුක්ෂ මූලයකට ගියේද මේ විදිහට නුවණින් සළකා බලනවා. මේ ශරීරය බොහෝ දුක් ඇති ආදීනව ඇති එකක්. මේ සිරුරේ විවිධාකාර ලෙඩ රෝග හට ගන්නවා''.

මේ විදිහට ඇස් රෝග, කන් රෝග... ආදී වශයෙන් රෝග 48 ක් පමණ සඳහන් කරල තියෙනවා.

ගිරිමානන්ද සූත්‍රයේ අසුභ සංඥාව විග්‍රහ කරල තියෙන්නෙ පතුලෙන් උඩ, කෙස්වලින් යට, සම අවසානය තෙක් තියෙන කෙස්, ලොම්... ආදී කොටස් 32 නුවණින් පරීක්ෂා කරල බලන ආකාරය.

ගිරිමානන්ද සූත්‍රයේ දස සංඥා කියන්නෙ විමුක්ති මාර්ගය. ආදීනව සංඥාව සහ අසුභ සංඥාව, කයට හැදෙන ලෙඩ රෝග සහ කොටස් 32 ගැනත් විස්තර කරල තියෙනවා. නිවන් මගට කය ගැන බැලීම අවශ්‍ය නෑ කියල කියන අය, ගිරිමානන්ද සූත්‍රයේ ඉහත දස සංඥා විග්‍රහය දැක්ක නම් ඔය වැරදි මතයේ එල්බ ගන්නෙ නෑ. ධර්මයට පරස්පර දෘෂ්ටියක් හදා ගත්තොත් ඒක ත්‍රිපිටකයේ කුමන හෝ බුද්ධ වචනයකට පරස්පර වෙන හැටි ඉහත දේශනාවෙන් සනාථ වෙනවා.

නිවන් දකින්න කය ගැන බලන්න අවශ්‍ය නෑ කියන මතය හදාගෙන තියෙන්නෙ, ස. නි. II - 150 පිටුවේ සඳහන් වෙන දුතිය අස්සුතවන්තු සූත්‍රයේ විස්තර වෙන දහම් විවරණයක් වරදවා වටහගෙන. ඒ සූත්‍රයේ මේ විදිහට සඳහන් වෙනවා.

මහණෙනි, අශ්‍රුතවත් පෘතජ්ජනයාට සතර මහා භූතයන්ගෙන් හට ගත් මේ ශරීරයේ හට ගැනීම, වැඩීම, පිරිහීම, බිඳීම පේනවා. ඒ නිසා පෘතජ්ජනයා මේ කයේ නොබැඳීමට, නොඇලීමට, මිදීමට කැමති වෙනවා. නමුත් සිත ගැන නොබැඳීමට, නොඇලීමට, මිදීමට අශ්‍රුතවත් පෘතජ්ජනයාට හැකියාවක් නෑ. ඒකට හේතුව තමයි සසර දිගු කලක් මමය, මගේය කියන දෘෂ්ටිගතික වීම.

මහණෙනි, මහ වනයේ හැසිරෙන වඳුරෙක් අත්තක් අල්ල ගන්නවා. ඒක අතහැරල තව අත්තක් අල්ල ගන්නවා. එසේම සිත, මනස, විඤ්ඤාණය කියන මේවා රැයෙත් දවාලෙත් එකක් උපදිනවා, එකක් නිරෝධ වෙනවා. වියත් ආර්ය ශ්‍රාවකයා මෙසේ මෙය ඇති වන විට මෙය වෙයි, මෙය උදා නොවන විට එලය නිර් උදා වෙයි කියල පටිච්ච සමුප්පාදය මෙනෙහි කරනවා.

මේ සූත්‍රයෙන් පෙන්වා තියෙන කාරණය හරියට වටහා ගන්න බැරි වීම නිසා තමයි, නිවන් දකින්න කය ගැන බැලීමක් අවශ්‍ය නැහැයි කියන්නෙ. ධර්මාවබෝධයක් නොකළ අවියත් පෘතජ්ජනයාට සිතේ ස්වභාවය දැක ගන්න අපහසු වුනාට, කයේ ස්වභාවය දැකල උකටලී වෙන බව ඉහත සූත්‍රයේ සඳහන් කරල තියෙනවා. එහෙම කිව්ව පමණින් ආර්ය ශ්‍රාවකයා කය ගැන බලන්නෙ නැහැයි කියල මතයක් ගොඩනගන්න පුළුවන්කමක් නෑ. මොකද ශ්‍රුතවත් ශ්‍රාවකයා කය ගැන බලන්නෙ නැහැ කියල බුද්ධ දේශනාවල සඳහන් වෙන්නෙ නෑ. ඒ වගේම සූත්‍ර දේශනා රාශියක කය ගැන බැලීම විස්තර කරල තියෙනවා. අශ්‍රුතවත් පෘතජ්ජනයාට නම් පටිච්ච සමුප්පාදය හෙවත් හේතුඵල දහම වැටහෙන්නෙ නැති නිසා මස් ලේ කයේ ජරා, මරණ... ආදිය දැක්කට ඵලයක් ලබන්න බෑ. අන්න ඒක තමයි මෙතන විස්තර කරන්නෙ.

බුදු දහමේ සිත පිළිබඳව වගේම ගත පිළිබඳවත් විස්තර කරල තියෙනවා. ඒ කියන්නෙ නාම ධර්ම සහ රූප ධර්ම දෙකම විස්තර වෙනවා. මේ දෙකම හේතුවලින් සකස් වෙන හැටිත්, හේතු වැය වීමෙන් විනාස වෙන හැටිත්, හේතු නිරෝධ කළ හැකි ආකාරයත් විස්තර වෙනවා. රාගක්ඛය, දෝසක්ඛය, මෝහක්ඛය තමයි බුදු දහමේ හරය. සිතේ පහළ වන කාම කෝපාදී අකුසල් ප්‍රහාණය කරන විවිධ ක්‍රමවේද තියෙනවා.

"උපක්ඛිලිට්ඨස්ස චිත්තස්ස උපක්කමේන පරියෝදපනා හෝති" කෙළෙසුන්ගෙන් කිළිටි වන සිත නොයෙක් උපක්‍රම භාවිතා කරමින් දමනය කරගත යුතු බව තථාගතයන් වහන්සේ දේශනා කරල තියෙනවා. **රාගාධික පුද්ගලයාට අසුභය වැඩිය යුතු බව බුද්ධ දේශනාවේ සඳහන් වෙනවා. ගිරිමානන්ද සූත්‍රයේ වගේම සතිපට්ඨාන සූත්‍රයෙත් අසුභය විස්තර කරල තියෙන්නෙ කොටස්වලට බෙදල නුවණින් බලන්න කියල.**

කෙස්, ලොම්... ආදිය හැදෙන්න හේතු වෙච්ච ගති තිස් දෙක අරගෙන, එයින් කියවෙන්නෙ සිතේ හට ගන්න කුණු ගති ඉවත් කිරීම මිසක් කයේ කැලි ගැන බලන එක නෙවෙයි කියල වරදවා තේරුම් ගන්න හොඳ නෑ. ඒ ක්‍රමය බැලීමත් ප්‍රයෝජනවත් තමයි. නමුත් ඒ අදහස විතරක් අරගෙන, මස් ලේ ශරීරයේ කොටස් ගැන බැලීමක් දහමෙ නෑ කියල කිව්වොත් ඒක අධර්මයක් වෙනවා.

පෙළ දහමේ පැහැදිලිව තියෙනවා, පතුලෙන් උඩ හිස කෙස්වලින් යට විවිධාකාර අපවිත්‍ර දේවල්වලින් පිරුනු මේ ශරීරයේ කොටස් බැලිය යුතුයි කියල. (උද්ධං පාදතලා අධො කේසමත්ථකා තච පරියන්තං පූරං නානප්පකාරස්ස අසුචිනො පච්චවෙක්ඛති) හැබැයි **මේ කිව්වෙ කැතයි, ගඳයි, පිළිකුලයි කියල බලන්න නෙවෙයි. කොටස් එකතු කරල උඩින් ලස්සනට වහල මායා රූපයක් හදල තියෙන හැටි බලන්න කියල. ගැමි ව්‍යවහාරයේ, උඩින් ඔපේ යටින් හපේ කියන්නෙත් ඒකට තමයි.** ඒ අනුව කොටස් 32 කින් යුතු කය කියන්නෙ සිතේ ඇතිවෙන ගති ලක්ෂණ කියල මේ දේශනාවට ගලපන්න බැරි බව වටහගන්න ඕන. ඒකට හේතුව තමයි පතුලෙන් උඩ, කෙස්වලින් යට, සම අවසන් කොට ඇති, සිතේ ඇතිවෙන ගති නැති නිසා.

**පුරුෂයාට ස්ත්‍රී රූපයත්, ස්ත්‍රියට පුරුෂ රූපයත් තරම් සිත පැහැර ගන්න වෙනත් වස්තුවක් නැති බව තථාගත** දේශනාවක් (ඉත්ථී රූපං භික්ඛවේ පුරිසස්ස චිත්තං පරියාදාය තිට්ඨති)

කායානුපස්සනාව තියෙන්නෙ අභිද්‍යා දෝමනස්ස (ඇලීම් ගැටීම්) ප්‍රහාණය කරගන්න. ඒ කියන්නෙ අඩුම තරමෙ සෝවාන් වෙච්ච කෙනෙකුට තමයි කායානුපස්සනාව අනුගමනය කරන්න තේරෙන්නෙ. සෝවාන් පුද්ගලයා සත්‍යය දැකල තිබුනට, මේ කයට තියෙන ඇලීම් දුරු කරගන්න අපහසු වෙන්න පුළුවන්. ඒ නිසා තමයි කොටස් වශයෙන් හෝ ධාතු වශයෙන් හෝ එකතු වෙලා ඝන සංඥාවෙන් අරගෙන තියෙන මේ කයට ඇති ඇලීම් දුරු කරගන්න මේ කය නොයෙක් කොටස්වලට බෙදල බලන්න කියල ක්‍රමයක් පෙන්වා දුන්නෙ. එතකොට ඝන සංඥාව දුරු වෙලා ඇලීම දුරු වෙනවා.

**පුද්ගලයාට කය මුල් වෙලා රාගය බොහෝ සෙයින් ඇති වෙනවා. සිතේ හට ගන්න රාගය ප්‍රහාණය කරන්න, සිත බැඳුනු කය විශ්ලේෂණය කරල බැලිය යුතුමයි.** ප්‍රිය

රූපය මුල් කරගෙන තණ්හාව උපදින බව "පිය රූපං සාත රූපං එත්තේසා තණ්හා එත්ථ උප්පජ්ජමානා උප්පජ්ජති, නිවිසමානා නිවිසති" කියන දේශනයේ සඳහන් වෙනවා.

පංච උපාදානස්කන්ධය තුල රූප උපාදානස්කන්ධය විස්තර වෙනවා. කාය රූපයට සිත බැඳෙන ගතිය පහ කරගන්න කයේ යථාර්ථය බැලීම උපකාර වෙනවා. සතිපට්ඨාන සූත්‍රයේ කායානුපස්සනාව තුල නව සීවථික වශයෙන්, කොටස් 32 වශයෙන්, සතර මහා ධාතු වශයෙන් බලන්නත්, ගිරිමානන්ද සූත්‍රයේ ආදීනව සංඥාවට, අසුභ සංඥාවට කයේ ස්වභාවය බලන්නත් දේශනා කරල තියෙන්නෙ රාගාදී කෙලෙස් ප්‍රහාණය කර ගන්න.

ශ්‍රැතවත් ආර්ය ශ්‍රාවකයා පටිච්ච සමුප්පාදය මෙනෙහි කරන බව දුතිය අස්සුතවන්ත සූත්‍රයේ පැහැදිලි කළේ ඒ කාරණය. රාගයෙන් පටි + ඉච්ඡ වෙලා, එහෙම නැත්නම් රූපයකට රාගයෙන් බැඳුනම ඊට සමානව (සම + උප්පාද - සමානව පහළ වීම) සංඛාර, විඤ්ඤාණ... ආදී චක්‍රය ක්‍රියාත්මක වෙලා උපාදානය ගොඩ නැගෙනවා. රාගයෙන් පටි + ඉච්ඡ වුනේ මස් ලේ සහිත කයකට නම්, කයේ යථාර්ථය නුවණින් දකිනකොට අවිද්‍යාවෙන්, තණ්හාවෙන්, රාගයෙන් හට ගත්ත පටිච්ච සමුප්පාදය නිර් උදා හෙවත් නිරෝධ වෙනවා. අස්සුතවන්ත සූත්‍රයේ, ශ්‍රැතවත් ආර්ය ශ්‍රාවකයා පටිච්ච සමුප්පාදය මෙනෙහි කරන බව සඳහන් වෙන්නෙ මේ කාරණය. ඒකෙ යථාර්ථය තෝර ගන්න බැරිව, පටිච්ච සමුප්පාදයේ කය කුණු වීම ගැන තියෙනවද කියල, කය ගැන බැලීම අනවශ්‍යයි කිව්වොත් ඒක ගැලපෙන්නෙ නෑ.

කෙලෙස් ප්‍රහාණයට කය ගැන බැලීමක් අවශ්‍ය නෑ කියන මතය සනාථ කරන්න ඉදිරිපත් කරන තවත් සූත්‍රයක් තමයි ස. නි. 5 (1) <u>අට්ඨික සූත්‍රය.</u> ඒ සූත්‍රයේ මෙහෙම සඳහන් වෙනවා.

මහණෙනි, අට්ඨික සංඥාව බොහෝ කොට වැඩීම මහත් අනුසස් ලබන්න හේතු වෙනවා. මොන විදිහට වඩන ලද අට්ඨික සංඥාව මහත් ඵල මහානිසංස වෙයිද? මහණෙනි, විවේකය, විරාගය, නිරෝධය ඇසුරු කරමින් නිවනට නැඹුරු වූ අට්ඨික සංඥා සහගත සති සම්බොජ්ඣංගය... ආදී සප්ත බොජ්ඣංග වඩයිද, මෙසේ වඩන ලද අට්ඨික සංඥාව මහත් ඵල මහත් අනුසස් ලබන්න හේතු වෙනවා.



උද්ධුමාතක, විනීලක විච්ඡිද්දක... ආදී සූත්‍රවලත් ඉහත ආකාරයටම සප්ත බොජ්ජඣංග වඩන ආකාරය පැහැදිලි කරල තියෙනවා.

අට්ඨික සංඥාව කියන්නෙ සප්ත බොජ්ජඣංග වැඩීම මිසක් කයේ ඇට ගැන බැලීමක් නොවන බව, කය ගැන බලන්න විරුද්ධ මත දරන අයගෙ අදහස වෙනවා. "අට්ඨික සංඥා සහගතං සති සම්බොජ්ඣංග භාවෙති" කියල සූත්‍රයේ සඳහන් වෙනවා. අට්ඨික සංඥාව කියන්නෙ සති සම්බොජ්ඣංගයයි කියන්නෙ නැතිව, "සහගත" කියන වචනය මෙතනට දාල තියෙන්නෙ මොකක් නිසාද කියල විමසල බලන්න ඕන.

අට්ඨික සංඥාව සහිතව සති සම්බොජ්ඣංගය ආදී සප්ත බොජ්ඣංග වඩන හැටි සූත්‍රයේ විස්තර වෙනවා. **ශරීරය මුල් කරගෙන රාගය මතු වෙච්ච වෙලාවට ශරීරය ප්‍රියයි මධුරයි කියල රැවටුනාට, මේ ඇට කැලිවලින් වහල තියෙන මස් ලේ ටිකටනේ රැවටෙන්නෙ, මේකෙ හරයක් නෑ කියල, අට්ඨික සංඥාව මුල් කරගෙන රාගාදී කෙලෙස්වලින් සිත මුදව ගන්නවා.** ඒක සිද්ධ වුනේ සතිය මුල් කරගෙන නිසා සති සම්බොජ්ඣංග ආදී සප්ත බොජ්ඣංග වැඩෙනවා.

මළ සිරුරක සිදුවන උද්ධුමාතක (ඉදිමුනු), විනීලක (නිල් වුනු)... ආදී ලක්ෂණත් මුල් කරගෙන කය නමැති රූපස්කන්ධය කෙරෙහි රාගාදී කෙලෙස් ප්‍රහාණය වෙනකොට සිද්ධ වෙන්නෙ සප්ත බොජ්ඣංග වැඩීම. ඒ අදහසිනුයි අට්ඨික සූත්‍ර ආදී දේශනාවල බොජ්ඣංග වැඩෙන බව සඳහන් කරල තියෙන්නෙ. සූත්‍රයේ මතු පිටින් බලන කොට පේන අර්ථයට වඩා යථාර්ථයක් ගැඹුරින් විමර්ශනය කරන කොට පේනවා. ඒ නිසා සූත්‍ර දේශනාවල දහම් කරුණු තෝර ගන්නකොට තමන්ට වැටහෙන අදහස අනිකුත් බුද්ධ දේශනා සමග සැසඳෙනවද කියල හොඳට විමර්ශනය කරල බලන්න ඕන. එහෙම නැති වුනොත් ධර්ම විරෝධී අදහසක් ගොඩනැගෙන්න තියෙන ඉඩකඩ වැඩියි.

ඊළඟට ඛුද්දක නිකායට අයිති ධම්ම පද දේශනාවල, විදර්ශනාවට කය මුල් වෙලා තියෙන බව විමර්ශනය කරල බලනකොට පේනවා. පන්සියයක් විදසුන් වැඩූ භික්ෂූන් වහන්සේලා පිරිසකට තථාගතයන් වහන්සේ මේ විදිහෙ දේශනයක් පැහැදිලි කරනවා.

කුම්භූපමං කාය මිමං විදිත්වා
නගරූපමං චිත්තමිදං ඨපෙත්වා
යෝධේථ මාරං පඤ්ඤාවුධේන
ජිතංච රක්ඛේ අනිවේසනෝසියා
<u>(ඛු. නි. ධම්ම පදය - චිත්ත වර්ගය)</u>

මේ කය මැටි භාජනයක් වගේ කොයි වෙලාවෙ කැඩිල බිඳිල විනාස වෙලා යනවද කියල දන්නෙ නැති නිසා, කයේ අස්ථිරත්වය නුවණින් දැනගන්න ඕන. මේ සිත, පරසතුරන්ගෙන් පරද්දන්න බැරි ආකාරයට හදපු නුවරක් වගේ, කෙලෙස් සතුරන් විසින් පරාජයට පත් කරන්න බැරි ☞

විදිහට ප්‍රඥාව නමැති අවියෙන් කෙලෙස් මරුට පහර දෙන්න ඕන. ඒ විදිහට පහර දීල ජය ගත්ත සිත රැකගන්න ඕන.

පූතිගත්ත තිස්ස හාමුදුරුවො කිසිවෙකුගේ සැළකිල්ලක් නැතිව අසාධ්‍ය තත්ත්වයෙන් හිටපු වෙලාවෙ, තථාගතයන් වහන්සේ ආනන්ද හාමුදුරුවොත් එක්ක ඒ භික්‍ෂුව නහවල සුද්ධ පවිත්‍ර කරල අවසානයේ මේ විදිහෙ ධර්මයක් දේශනා කළා.

අචිරං වතයං කායෝ
පඨවිං අධිසෙස්සති
ඡුද්ධෝ අපේත විඤ්ඤාණො
නිරත්ථංච කලිංගරං
(ඛු. නි. ධම්ම පදය - චිත්ත වර්ගය)

මේ කයේ ස්ථිර ස්වභාවයක් නෑ. විඤ්ඤාණය කයින් ඉවත් වුනාම දර කඩක් වගේ මේ සිරුර ඉවත දානවා. (නවසීවතකයේ තියෙන්නෙත් මේ අදහස) ලෙඩ කයකින් හිටපු ඒ තෙරුන් වහන්සේට කයේ යථාර්ථය මුල් කරගෙන ධර්ම දේශනා කළාම අරිහත්වයට පත් වෙලා පිරිනිවන් පෑව බව සඳහන් වෙනවා.

බුදුරජුන් ජීවමාන කාලයේ විදසුන් වඩන්න ආරණ්‍යගත වෙච්ච භික්‍ෂුවක් කොච්චර වීර්ය කළත් අරිහත්වයට පත්වෙන්න බැරි වුන නිසා, තථාගතයන් වහන්සේ හමුවෙන්න එන අතරමගදි තද අව් රශ්මියට පොළොවෙ දිස්වෙන මිරිඟුව දැකල, මේක දුර ඉඳන් බලනකොට වතුර වගේ පෙනුනට ළඟට ගියාම එබඳු දෙයක් නෑ, ඒ වගේම මේ ශරීරයත් හොඳයි ප්‍රියයි, මධුරයි කියල හිතට දැනුනට, මේකෙ ගන්න හරයක් නැති බව සිහි කරමින් අචිරවතී ගං තෙර අසළට පැමිණියා. ගඟ දිහා බලාගෙන ඉන්නකොට පෙණ පිඩු නොයෙක් ආකාරයෙන් නැගි නැගී බිඳි බිඳී වැනසෙන හැටි දකින්න ලැබුනා.

ඒ දිහා නුවණින් බලාගෙන, මේ ශරීරයත් පෙණ පිඩක් (ඵේනපිණ්ඩූපමං රූපං) වගේ, මිරිඟුවක් වගේ කියල නිසරු බව දකිමින් විදර්ශනා කරන කොට, දෙව්රම් වෙහෙරේ වැඩ සිටි බුදුන් වහන්සේ බුද්ධ රශ්මි මාලාවක් යවල, හමුවෙහි වැඩ සිටිනවා වගේ පෙනී ඉඳල මේ ගාථාව දේශනා කළා.

ඵේනූපමං කාය මිමං විදිත්වා
මරීචි ධම්මං අභිසම්බුධානෝ
ඡෙත්වාන මාරස්ස පපුප්ඵකානි
අදස්සනං මච්චුරාජස්ස ගච්ඡේ
(ඛු. නි. ධම්ම පදය - පුප්ඵ වර්ගය)

මේ කය පෙණ පිඩක් වගේ, මිරිඟුවක් වගේ හරසුන්. මේ විදිහට නුවණින් සළකන තැනැත්තා කෙලෙස් මාරයාට අයිති පංච කාම බන්ධනයන් ආර්ය මාර්ගය නමැති සියුම් අවියෙන් මනා කොට සිඳ දමා මරුට විෂය නොවන නිවන ප්‍රත්‍යක්‍ෂ කරන බව පැහැදිලි කරමින් ධර්ම දේශනා කළාම ඒ භික්‍ෂුව අරිහත්වයට පත් වුනා.

බුදුන් වහන්සේ වැඩ හිටපු කාලයේ උත්තරා කියන මෙහෙණිය, පිණ්ඩපාතයේ ගිහින් ලැබෙන දානය පිට පිටම දින 3 ක් භික්‍ෂූන් වහන්සේලාට පූජා කිරීම නිසා ආහාර නොලැබීමෙන් ශරීර ශක්තිය දුර්වල වෙලා හිටියා. එහෙම ඉඳගෙන දවසක් පිඬු සිඟා වඩිනකොට, ඉදිරියෙන් වැඩිය බුදුන් වහන්සේට ගෞරවයෙන් මාර්ගයෙන් අයින් වෙන්න යනකොට සිවුරු පොට පැටලිලා ඇදගෙන වැටුනා. ඉතා වයසට පත් වෙලා ශරීරය දුබලව හිටපු උත්තරා මෙහෙණියට තථාගතයන් වහන්සේ උවටැන් කරල මේ ගාථාවෙන් ධර්මයක් දේශනා කළා.

පරිජිණ්ණ මිදං රූපං
රෝග නිඩ්ඩං පභංගුරං
භිජ්ජති පූති සන්දේහෝ
මරණං තංහි ජීවිතං
(ඛු. නි. ධම්ම පදය - ජරා වර්ගය)

ඉතා දිරා ගිය මේ රූප කාය ලෙඩ හට ගැනීමට කුඩුවක් වගේ, වහා බිඳෙන, කුණු වැගිරෙන බව හා ජීවිතය මරණය කෙළවර කොට ඇති බව පැහැදිලි කරමින් ධර්ම දේශනා කළාම ඒ මෙහෙණිය සෝවාන් මාර්ගඵල අවබෝධ කරගත්තා.

රජගහ නුවර ඉතා ප්‍රසිද්ධ රූප ස්වභාවයෙන් යුක්ත කාන්තාවක් තමයි සිරිමා කියල කියන්නෙ. ගණිකා වෘත්තියේ යෙදුන ඇය තමන් වෙත එන ඉසුරුමතුන්ගෙන් මසුරන් දහස් ගණන් අය කර ගත්තා. ඇය පිනට දහමටත් ඉතා ලැදිව කටයුතු කළ කෙනෙක්. තථාගතයන් වහන්සේගෙන් බණ අහල සෝවාන් මගඵල අවබෝධ කරගෙන හිටියෙ. පසුව ඇය රෝගාතුර වෙලා මරණයට පත් වුනා.

ඇය මැරුණට පස්සෙ භික්‍ෂූන් වහන්සේලා සමග සොහොන වෙත වැඩම කළ තථාගතයන් වහන්සේ බිම්බිසාර රජතුමා අමතල, මහරජ පෙර සිරිමා පතා එන අය එකවර මසුරන් දහසක් වුනත් දීල ඇය ලබා ගන්නවා, දැනුත් එහෙම ගන්නවද කියල ඇහුවම, එහෙම ගන්න කෙනෙක් නැති බව රජතුමා කියනවා. අඩු මුදලකට හෝ නොමිලයේ හෝ ගන්න කෙනෙක් ඉන්නවද කියල ඇහුවත් එහෙම ගන්නවත් කෙනෙක් හිටියෙ නෑ.

මේ කාරණය නිමිති කරගෙන තථාගතයන් වහන්සේ, මේ කයේ ස්ථිරව පවතින්නක් නැති බවත්, වණ ගොඩක් වූ ඇට කටුවලින් නගා සිටුවන ලද, බොහෝ දෙනා විසින් යහපත් විදිහට කල්පනා කරන, විසිතුරු කොට සළකන විඤ්ඤාණය හැර ගිය මේ කය දිහා බලන්න කියල ඒ අදහස විස්තර වෙන පහත ගාථාව දේශනා කළා.

පස්ස චිත්ත කතං බිම්බං
අරුකායං සමුස්සිතං
ආතුරං බහු සංකප්පං
යස්ස නත්ථි ධුවං ඨිති
(ඛු. නි. ධම්ම පදය - ජරා වර්ගය)

ධම්ම පදයේ ප්‍රකීර්ණක වර්ගයේ දාරුසාකටික දරුවා අරඹයා, දිවා රෑ නිතර කායගතා සතිය වඩන තැනැත්තා සුවසේ නිදන බවත්, සුවසේ අවදි වෙන බවත් පහත ගාථාවෙන් පැහැදිලි කරල තියෙනවා.

සුප්පබුද්ධං පබුජ්ඣන්ති
සදා ගෝතම සාවකා
යේසං දිවාච රත්තෝච
නිච්චං කායගතාසති
(ධම්ම පදය - පකිණ්ණක වර්ගය)

ඛුද්දක නිකායට අයිති ධම්ම පදය තුලින් ඉහත විග්‍රහයන් පැහැදිලි කළේ, මේ කය පිළිබඳ විශ්ලේෂණය කර බැලීම රාගාදී කෙලෙස් ප්‍රහාණය කරල මගඵල නිවන් සාක්‍ෂාත් කර ගන්න උපකාර වෙන බව සනාථ කරල පෙන්වන්න. නිවන් දකින්න කයේ ස්වභාවයන් බලන්න අවශ්‍ය නෑ කියන මතය මේ බුද්ධ දේශනා හමුවේ අනාථ වෙනවා.

**අනික සිදුහත් කුමාරයත් සතර පෙර නිමිතිවලින් කයේ ලෙඩ** ☞

**රෝග, ජරා, මරණ ගැන බලල තමයි බවුන් වඩන්න ගියේ.** බුදු වුනාට පස්සෙ තමයි මතු භට ගන්න තියෙන ජරා, මරණ, ලෙඩ දුක් ඉක්මෙව්වෙ. එහෙම නැත්නම් ඉතිං ආස්වාද කොහොම හැදුනත් ජරා, මරණ නැත්නම් ආස්වාද විඳ විඳ ප්‍රශ්නයක් නැතිව ඉන්න පුළුවන්. නමුත් මේ කයේ ජරා, මරණ, ලෙඩ දුක් තියෙන නිසාම තමයි ඒකෙන් මිදෙන්න ඕන කියන අදහස එන්නෙ.

කියන්නා කෙසේ කීවත් අසන්නා සිහි බුද්ධියෙන් අසා ත්‍රිපිටක පෙළ දහමට පටහැනි යමක් කියනව නම්, ඒක වැරදි ධර්මයක් විදිහට බැහැර කරල සත්‍යය තෝරා බේරා ගන්න ශ්‍රාවකයාත් දක්‍ෂ වෙන්න ඕන.

සතර මහා ප්‍රදේශවලට අනුව, යමෙක් මම මේක අහගෙන ආවෙ තථාගතයන් වහන්සේගෙන් කියල කිව්වත්, මේක සංඝයාගෙන් අහගෙන ආවෙ කිව්වත්, මේක අහවල් ප්‍රසිද්ධ සංඝ ස්ථවිරයන් වහන්සේ කිව්වා කියල සඳහන් කළත්, මේක බොහෝ භික්‍ෂූන්ගේ පිළිගැනීමයි කියල කිව්වත්, ඒ සියල්ල එකහෙලා බාර ගැනීම හෝ ප්‍රතික්‍ෂේප කිරීම හෝ නොකර ධර්මයට විනයට ගලපල, ගැලපෙනව නම් ධර්මය විනය විදිහට පිළිගන්නත්, නොගැලපෙනව නම් අධර්මය අවිනය විදිහට බැහැර කරන්නත් සිවු පිරිසම දක්‍ෂ වෙන්න ඕන.

ක්ලේශයන්ගෙන් කිළිටි වන සිත උපක්‍රමයෙන් දමනය කළ යුතු බව තමයි තථාගත දේශනාව. රාගාදී කෙලෙස් ප්‍රහාණය කර ගන්න විවිධාකාර ක්‍රමවේද තථාගතයන් වහන්සේ විසින් වදාරළ තියෙනවා. ම. නි. (I) - 300 පිටුවේ විතක්ක සන්ඨාන සූත්‍රයේ කෙලෙස් පහ කරන ක්‍රම 5 ක් ගැන විස්තර වෙනවා.

ලෝභ, දෝස, මෝහ සහගත අකුසල විතර්ක සිත තුල උපදින කොට, කුසල් සහගත අන්‍ය නිමිත්තක් (අඤ්ඤ නිමිත්ත) මෙනෙහි කිරීම තමයි අකුසල විතර්ක පහ කර ගන්න තියෙන පළවෙනි උපක්‍රමය. මේ විදිහට කුසලාරම්මණයක සිත පවත්වන කොට අකුසල විතර්කයෝ ප්‍රහීන වෙනවා, සිත සමාධිගත වෙනවා. මේක උපමා කරල තියෙන්නෙ දක්‍ෂ වඩුවෙක් සියුම් ඇණයකින් මහ ඇණයක් ගලවා දමන්න වගේ කියල.

මේ විදිහට අන්‍ය කුසල නිමිත්තක් මෙනෙහි කරනකොටත්, නැවත නැවත කුසලාරම්මණය යටපත් කරගෙන අකුසල විතර්කයෝ උපදිනව නම්, ඒ අකුසල විතර්කයන්ගේ වැරදි සහගත බව, දුක් විපාක ගෙන දෙන බව දකිමින් ආදීනව සිහි කළ යුතුයි (ආදීනව නිමිත්ත). හරියට යමෙකුගෙ කරේ සර්ප කුණක්, බලු කුණක්, මිනිස් කුණක් තියෙන කොට ලැජ්ජා වෙන්නෙ, පිළිකුල් කරන්නෙ, භට ගත් දුක් ඇත්තෙ යම් විදිහකටද, ඒ වගේ අකුසල විතර්කවල ආදීනව මෙනෙහි කරන්න ඕන.

මේ විදිහට ආදීනව මෙනෙහි කරන කොටත් ලෝභාදී අකුසල විතර්ක පහළ වෙනව නම්, ඒ සඳහා සිහිය නොයෙදීම සහ මෙනෙහි නොකිරීම (අසති අමනසිකාර නිමිත්ත) කරන්න ඕන. එහෙම කරනකොටත් කාම කෝපාදී පාපී සිතිවිලි පහළ වෙනව නම්, ඒ විතර්ක පහළ වෙන්න හේතු වුන මූල කාරණය (විතක්ක මූල හේතු නිමිත්ත) මෙනෙහි කරන්න ඕන. යම් කාම විතර්කයක් එන්නෙ, මීට පෙර දැකපු ප්‍රිය මනාප ශරීරයක් මුල් කරගෙන නම්, ශරීරයේ ස්වභාවය කායානුපස්සනාව අනුව විශ්ලේෂණය කරල බලන්න ඕන. එහෙම බලනකොට අකුසල විතර්ක ප්‍රහීණ වෙලා සිත සමාධිගත වෙන්න හේතු වෙනවා.

එහෙම කරනකොටත් කෙලෙස් විතර්ක ප්‍රහීණ වෙන්නෙ නැත්නම්, දත් ඇඳි එකට තද කරල දිව උඩු තල්ලෙ තියාගෙන ඒ අකුසල විතර්කවලට විශේෂයෙන් නිග්‍රහ කරන්න ඕන (අභිනිග්ගණ්හන නිමිත්ත). එහෙම කරන කොට රාගාදී කෙලෙස් ධර්ම ප්‍රහීණ වෙලා සිත සන්සුන් වෙලා සමාධිගත තත්ත්වයට පත් වෙනවා.

මේ විදිහට විතක්ක සන්ඨාන සූත්‍රයේ සඳහන් වෙන මේ ක්‍රමවේද පහ පුරුදු කරමින් හිත වශීභාවයට පත් කර ගත්තම, යම් විතර්කයක් කැමති නම් මෙනෙහි කරන්නත්, යම් විතර්කයක් අකමැති නම් මෙනෙහි නොකර ඉන්නත් පුළුවන් වෙනවා. එතකොට තෘෂ්ණාව සිඳිල සංයෝජන දුරු වෙලා දුක් කෙළවර කරන්න පුළුවන් වෙනවා. ඔබ සැමට සියළු අකුසල විතර්ක ප්‍රහාණය කරගන්න මේ බුදු වදන් උපනිශ්‍රය වේවා!

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය,**
**පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**
**0716839346**

# පින්වතුන්ගේ දැන ගැනීම පිණිසයි...

දැනට වෙළඳපොළේ මුද්‍රණ කඩදාසි ඇතුළු ඒ ආශ්‍රිත නිෂ්පාදනවල මිල ගණන් ඉතා ඉහළ ගොස් ඇති බැවින් මෑතක සිට හෙළ බොදු පියුම දහම් සඟරාවේ මුද්‍රණ පිරිවැයද සැලකිය යුතු ලෙස වැඩි වී ඇත. ඒ හා සමගාමීව පසුගිය කලාපවල නැවත මුද්‍රණ වියදම්ද ඉහළ ගොස් ඇත. මේ දක්වා එළි දක්වන ලද සියළුම සඟරා කලාප ලබා ගැනීමට හැකිවන අයුරින් නැවත මුද්‍රණය කර ඒ සඳහා වෙනම සඟරා ගබඩාවක්ද පවත්වාගෙන යෑම සිදු කරන බැවින් සමස්ත පිරිවැය වැඩි වී ඇත. එහෙත් මෙම සඟරාව කිසිදු මූල්‍යමය ලාභයක් බලාපොරොත්තුවෙන් නොකරන නිසාත්, පින්වතුන් විසින් ලබාදෙන මූල්‍යමය පුණ්‍යාධාර නිසාත්, තවත් හැකිතාක් කාලයක් රු. 25/= ක මිලකට ලබා දීමට උත්සාහ කරන බව කාරුණිකව දනුම් දෙනු ලැබේ.

## අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය

සුගතිය, නිවන පූර්ණ කර ගැනීමේ පහසුව පිණිස ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන්, පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමියන් විසින් බෙහෙත් සමාධියෙන් මතු කරනු ලැබූ බෙත් හා ප්‍රතිකාර ක්‍රම ඇසුරින් කෙරෙන, අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය සෑම ඉරිදා දිනකම උදෑසන 7.00 සිට වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේදී පැවැත්වෙන අතර රෝග විමර්ශනය සහ සියලු රෝග සඳහා ඖෂධ ප්‍රතිකාරද කරනු ලැබේ. වැඩි විස්තර සඳහා පහත දුරකථන අංකවලින් විමසන්න. (ගමන් මාර්ගය 32 පිටුවේ දක්වා ඇත.) 077 774 1478 / 077 162 0072



# මහා විද්‍යාඥයා පෙන්වා දුන් ගති ආකර්ෂණ නියමය හා සක්වල නිර්මාණය

අද ගුරුත්වාකර්ෂණ නියමය කියල කියන්නෙ, විසාල වස්තුවකට කුඩා වස්තුවක් ආකර්ෂණය වෙනව කියල හදාගත්ත නියමයකට. විසාල වස්තුවට කුඩා වස්තුව දෙසට යන්න බැරි නිසා, කුඩා වස්තුව විසාල වස්තුව දෙසට ඇදෙනව කියල තමයි කියන්නෙ. හැබැයි හයිඩ්‍රජන් වගේ සැහැල්ලු වායුවකින් බැලුමක් පුම්බල පරිසරයට මුදා හැරියොත් ඒක උඩ යනවා. ඒ කියන්නෙ හයිඩ්‍රජන් වායුව හා සමාන ඝනත්වයක් තියෙන තැනට ඒක ගමන් කරනවා. ගුරුත්වාකර්ෂණ නියමයෙන් ඒ කාරණය පැහැදිලි කරන්න බැරි නිසා, නවීන විද්‍යාවේ ඒ කාරණය පැහැදිලි කරන්න ගන්නෙ ඉපිලුම් නියමය. දැන් ගලක් අරගෙන ජලයට දැම්මොත් ඒක ජලය පසාරු කරගෙන පතුලට යනවා. ඒ කියන්නෙ ජලය පොළොවෙන් තවත් උඩට එනවා. තද බල ආකර්ෂණයක් තියෙන ඒවා පෘථිවියේ මධ්‍යය කරා ගමන් කරනවා. හැම තිස්සෙම තදබල දේවල් පහළට තමයි ආකර්ෂණය වෙලා ඇදිල පිහිටන්නෙ. සම්මතයේ කතා කරන ඝන, ද්‍රව, වායු කියන ඒවා ඒ අනුපිළිවෙලට තමයි පිහිටන්නෙ.

පෘථිවිය මධ්‍යයේ තියෙන්නෙ මහා ගින්නක්. ඊළඟට පිහිටල තියෙන්නෙ ඝනීභවනය වුන ලෝහමය ශිලාමය කොටසක්. පස් තියෙන්නෙ ඊටත් උඩ මට්ටමේ. ජලය තියෙන්නෙ ඊළඟට. වායුගෝලය තියෙන්නෙ ඒ මත. එතනදි කාබන්ඩයොක්සයිඩ් වගේ බර වායු පහළ මට්ටමෙත්, හයිඩ්‍රජන් වගේ සැහැල්ලු වායු උඩ මට්ටම්වලත් ස්ථර විදිහට පිහිටල තියෙනවා.

දැන් මේ භෞතික පිහිටීම දිහා බැලුවම, ස්කන්ධ සමානුපාතික ආකර්ෂණය කියල කිව්වොත්, ගුරුත්වාකර්ෂණය කියනවට වඩා ඒක ගැලපෙනව නේද? ස්කන්ධ සමානුපාතික ආකර්ෂණය කියල කියන්නෙ ස්කන්ධයක ඝනත්වය යම් ආකාරයක්ද, ඒකට සමානුපාතිකයි ආකර්ෂණය. මහ පොළොව, ජල ගෝලය සහ වායුගෝලය පිහිටල තියෙන්නෙ ඒ ආකාරයට. දැන් මහ පොළොවෙ හරස් කඩක් බැලුවොත්, මධ්‍යයේ තියෙන ගින්නට වඩා පස් තට්ටුව විසාලයි. හැබැයි 2/3 ක් ජල තට්ටුව. 1/3 ක් තමයි පස් තට්ටුව තියෙන්නෙ. අද හදාගෙන තියෙන නියම අනුව බැලුවොත්, වැඩි ස්කන්ධයක් තියෙන ජලය තමයි පොළොව යටටම, එහෙම නැත්නම් මධ්‍යයට යන්න ඕන. ඊට උඩින් තියෙන්න ඕන පස් තට්ටුව. ගින්න තියෙන්න ඕන ඊටත් උඩින්.

දවස ගානෙ පොළොවට ඉර අව්ව වැටෙනවා. මුහුදටත් ඉර අව්ව වැටෙනවා. හවස් වෙනකොට රත් වෙනවා. හැබැයි උදේට බලනකොට හැම තැනම සිසිල් වෙලා. එතකොට ඒ ආපු උෂ්ණත්වයට මොකද වුනේ? කොහාටද ගියේ? අද උෂ්ණත්වයට හෙට උෂ්ණත්වය එකතු වෙනව නම්, ඔය වගේ කාලාන්තරයක් තිස්සෙ සිද්ධ වුනොත් එහෙම ලෝකය ගිනි ගන්න ඕන නේද? අද නවීන විද්‍යාවෙන් හොයාගෙන තියෙනවා උෂ්ණත්වයටත් ස්කන්ධයක් තියෙනවා කියල. දැන් අපි උෂ්ණත්වය පරාවර්තනය වෙනව කියල ගත්තොත්, ස්කන්ධ සංස්ථිති නියමය අනුව නම් උෂ්ණත්වය කොහේ හරි තියෙන්න ඕන. එතකොට අවුරුදු කෝටි ගණනක් තිස්සේ පොළොවට වැටිච්ච උෂ්ණත්වය කෝ? එහෙම ලෝකය ගිනි ගන්නෙ නැතුව සමතුලිත වෙන්නෙ කොහොමද? ජලයට අව්ව වැටුනම ජලය මතු පිට පෘෂ්ඨය ඉස්සෙල්ලම රත් වෙනවා. දැන් ඊළඟ දවසෙ උදේ බැලුවොත් උඩ මට්ටමේ තියෙන ජලය සීතලයි. හැබැයි යට මට්ටමේ තියෙන ජලය රස්නෙයි. වැව් ආශ්‍රිතව ඉන්න අයට මේ අත්දැකීම ඇති. උෂ්ණත්වය පොළොව යටට ගමන් කරන බව තමයි ඒකෙන් පේන්නෙ.

මේ විදිහට පොළොව යටට යන උෂ්ණත්වය පොළොව මැදට ගමන් කරනවා. ඊට පස්සෙ විසාල උෂ්ණත්වයක් උරාගෙන තැන්පත් වෙනවා. ඒ නිසා තමයි පොළොව මධ්‍යයේ ගිනි තියෙනව කියන්නෙ. එහෙනම් ජලයෙන් තොර සාමාන්‍ය පොළොව මතුපිට පෘෂ්ඨයට වැටිච්ච උෂ්ණත්වයත් කොහේට හරි යන්න එපැයි ! එහෙම නැත්නම් පරාවර්තනය වෙන්න ඕන. දැන් පොළොව බැලුවත් යටට යනකොට රස්නෙ වැඩි වෙනවා. මේ පොළොවට වැටෙන උෂ්ණත්වය පෘථිවිය මැදට ගමන් කරල අන්තිමට වායුවක් බවට පත්වෙලා හෝ මධ්‍යයේ තැන්පත් වෙනවා.

කවදා හරි පෘථිවියට දරා ගන්න බැරි තරම් උෂ්ණත්වයක් පෘථිවි මධ්‍යයේ එකතු වෙච්ච දවසට පෘථිවිය පුපුරල ගින්නෙන් විනාස වෙනවා. ලෝකය ගින්නෙන් විනාස වෙනව කියල අපි අහල තියෙනවා. එහෙම විනාස වෙන එක ක්‍රමයක් තමයි මේ. මධ්‍යයේ උෂ්ණත්වය වැඩි වෙනකොට ප්‍රසාරණය වෙන ශිලා ගෝලයට දරන්න බැරිව පුපුරල යන්න හේතු වෙනවා. රතිඤ්ඤා කරලක්, බෝම්බයක් වුනත් ඒක ඇතුලෙ උෂ්ණත්වය තුලින් පීඩනය වැඩි වෙනකොට විසාල ශක්තියක් මුදා හරිමින් පුපුරල යනවා. මේ විදිහට කවදහරි පෘථිවියත් පුපුරල යනවා. උඩ මට්ටමේ ඉඳල එක මට්ටමකට උෂ්ණත්වය එනකොට ගිනි කඳු විදිහට පුපුරා යාමක් වෙනවා. ගිනි කඳුවලින් පිටවෙන්නෙ උඩ ස්ථරවල තියෙන උෂ්ණත්වය. පොළොව මධ්‍යයේ තියෙන උෂ්ණත්වය නෙවෙයි ඒවායින් උඩට මතු වෙන්නෙ. පෘථිවිය මැද පිහිටල තියෙන්නෙ කුහරයක්. එතනට තමයි උෂ්ණත්වය එකතු වෙලා ගිනි හටගෙන තියෙන්නෙ. හැබැයි මධ්‍යයට ගිය උෂ්ණත්වය දරාගන්න බැරුව පුපුරපු දවසට ලෝකයම විනාසයි. ඒක මේ අද හෙට සිද්ධ වෙන දෙයක් නෙවෙයි.

ස්කන්ධයෙන් වැඩි, එහෙම නැත්නම් මහත් දේ මහත් දෙයට ආකර්ෂණය වෙනවා කියනවට වඩා, බලවත් දේ බලවත් දෙයට ආකර්ෂණය වෙලා බලවත් දේ මධ්‍යයට පිහිටනවා කියල ගන්න එක ගැලපෙනවා. දැන් මෙහෙම හිතන්න. එක වයසේ එක වගේ ළමයි පිරිසක් තරඟයක් සඳහා තෝර ගන්නවා. එතනින් ළමයි හතර පස් දෙනෙක් හොඳ ශක්තිමත් අය. ඊළඟ මට්ටමට ශක්තිය තියෙන ළමයි පහළොස් දෙනෙක් විතර ඉන්නවා. අනෙක් ළමයි තව සීයක් විතර ඉන්නවා. හැබැයි ඒ අය ඒ තරම් ශක්තිමත් අය නෙවෙයි. දුර්වල අය. මේ ළමයි ඔක්කොම එක තැනක පේලියට හිටවල ටිකක් ඈතින් තියෙන කණුවක් පෙන්වනවා. ඒ කණුව තමන්ගෙ ශක්තිය යොදල අල්ල ගන්න පුළුවන් අය තමයි මේ තරඟයෙන් දිනන්නෙ කියල, ඔක්කොටම එක වෙලාවෙ කණුව ළඟට යන්න කියල සංඥාවක් දෙනවා.

දැන් අපි හිතමු තරඟයෙන් දිනපු අය තෝර ගන්නෙ යම් කිසි වෙලාවකින් පස්සෙ කියල. සමහරු ඉක්මනට දුවල ගිහින් දිනුම් කණුව අල්ල ගන්නවා. සමහරු දුවන්නෙ හෙමිහිට. හැබැයි කොහොම දිව්වත් තරඟයෙන් ජය ගන්නෙ කණුව අල්ලගෙන එතන රැකගෙන ඉන්න පුළුවන් ළමයි මිසක් කණුව ළඟට ඉස්සෙල්ලම ගිය ළමයි නෙවෙයි. දුර්වල ළමයෙක් ඉක්මනට දුවල ගිහින් දිනුම් කණුව අල්ල ගත්තොත් මොකද වෙන්නෙ? ඊට වඩා බලවත් ළමයෙක් ගිහින් ඒ ළමයව තල්ලු කරල දාල කණුව අල්ල ගන්නවා. මේ විදිහට ටික වෙලාවක් යන්න දීල තත්ත්වය බලනවා. බලවත්ම ළමයි කිහිප දෙනා දිනුම් කණුව වටේට අල්ල ගෙන ඉන්නවා. ඊළඟට ශක්තිමත් ළමයි ටික ඒ බලවත් ළමයි ටික වටේට ඉන්නවා. දුර්වල ළමයි ටික ඊටත් පස්සෙ ඔවුන් වටේ රොක් වෙලා ඉන්නවා. මෙතනදි ළමයි කොච්චර ප්‍රමාණයක් හිටියත්, බලවත් ළමයි ටික තමයි මැදට ගිහින් ජයග්‍රහණය කරන්නෙ. දුර්වල ළමයි කණුවෙන් ඈතට තල්ලු වෙනවා.

පඨවි, ආපෝ, තේජෝ, වායු ආදී ධාතුවලත් මෙහෙම රටාවක් තියෙනවා. දැන් මේවාට බලවත්කම එන්නෙ මොකෙන්ද කියල දකින්න ඕන. ලෝකය හැදුනෙ කොහොමද කියල ඇහුවම අද නොයෙකුත් මත ඉදිරිපත් වෙලා තියෙනවා. බුදු දහමෙ පෙන්වන ක්‍රමය විද්‍යාඥයින් පෙන්වන ක්‍රමය නෙවෙයි. ධර්මය තුල ඊට වඩා සියුම් කාරණයක් විග්‍රහ වෙලා තියෙනවා, මේ හැම ද්‍රව්‍යමය රූප කලාපයකම මූල ධර්මය මොකක්ද කියල. මේ සියල්ල සත්ත්වයාගේ සිත නිසා නිර්මාණය වෙන්නෙ. මනෝ පුබ්බංගමා ධම්මා මනෝ සෙට්ඨා මනෝමයා කිව්වෙත් ඒක. බුදු දහමේ **ලෝකය ගොඩනැගෙන්න හේතු හයක් පෙන්වා තියෙනවා. ඒ තමයි ලෝභ, ද්වේශ, මෝහ, අලෝභ, අද්වේශ, අමෝහ.** මෙන්න මේ හේතු හය තරඟයකට තිව්වොත්, මේ හේතුවලින් කෝකද ජය ගන්නෙ කියල බලමු.

තරඟකාරිත්වය තුලින් බලවතා ජය ගන්න ක්‍රමයක් තියෙනවා. අනුන්ව තලා පෙලා දාල කපල කොටල මරල හරි ජය ගන්න කෙනෙක් ඉන්නවා. ඒ තමයි ද්වේශ පුද්ගලයගෙ හැටි. ගති ලක්ෂණය හැම වෙලේම දැවෙන තැවෙන එක. ඊළඟට ලෝභයේ ස්වභාවය තමයි තදින් අල්ලා ගැනීම. කාටවත් දෙන්න කැමති නෑ. ලෝභ ගති ලක්ෂණය එහෙම එකක්. හැබැයි ලෝභයාගේ ස්වභාවයක් තියෙනවා, අල්ලගෙන ඉන්න එකට වඩා වටින එකකට පරිවර්තනය කරගන්න කැමතියි. ඕන නැති එක දීල ඕන එක ගන්නවා. ලෝභයට එහා මෙහා සංසරණය කිරීමේ සැලෙන ගතියකුත් තියෙනවා. ඊළඟට මෝහ ගතිය තමයි තද ගතිය. මෝහාධිකයාට කිසිවක් තේරුම් ගැනීමේ හැකියාවක් නෑ. අල්ල ගත්ත එක අත හරින්න කැමති නෑ. ඒ තමයි තද ගතියේ ස්වභාවය. එතකොට **ලෝභයේ ස්වභාවය තමයි ජල ස්වභාවය, නැත්නම් ආපෝ ස්වභාවය. ද්වේශයේ ස්වභාවය තමයි ගිනි ස්වභාවය, නැත්නම් තේජෝ ස්වභාවය. මෝහයේ ස්වභාවය තමයි තද ගතිය, නැත්නම් පඨවි ස්වභාවය. අලෝභයේ ස්වභාවය තමයි සැහැල්ලු බව, අල්ලා නොගැනීමේ ස්වභාවය, වායෝ ස්වභාවය.** අද්වේශයේ ස්වභාවය ඊටත් වඩා සැහැල්ලුයි. අමෝහයේ ස්වභාවය උපරිමයෙන් සැහැල්ලුයි.

මෙන්න මේ වගේ, සත්ත්වයා විසින් ගතියට අදාළ රූප කලාප නිපදවනවා. තමන් ගන්නා ගතිය අනුව හැම ක්ෂණයකදිම සත්ත්වයා විසින් ඒ අදාළ ගතියට අනුරූප රූප කලාප නිපදවමින් ලෝකයට නිදහස් කරනවා. ලෝභයට අදාළ මානසිකත්වය ආපෝ හෙවත් ද්‍රව ගතියට අයිති වෙනවා. ද්වේශයට අදාල මානසිකත්වය ගිනි හෙවත් තේජෝ ගතියට අයිති වෙනවා. මෝහයට අදාල මානසිකත්වය තද ගතියට හෙවත් පඨවි ගතියට අයිති වෙනවා. අලෝභයට අදාළ සැහැල්ලු රූප කලාප වායු ගතියට අයිති වෙනවා. අද්වේශයට අදාළ රූප කලාප ඊටත් වඩා සැහැල්ලු ආකාරයක් ගන්නවා. අලෝභයටත්, අද්වේශයටත් වඩා අති සියුම් සැහැල්ලු රූප කලාප තමයි අමෝහයට අදාළ වෙන්නෙ. මෙන්න මේ විදිහට හය ආකාරයක කොටස්වලින් ලෝකය නිර්මාණය වෙනවා. සත්ත්වයා ගන්න ප්‍රධාන ගති ලක්ෂණ හය අනුව ඒවායේ හේතු ඵලයක් විදිහට හය ආකාරයක කොටස්වලින් යුත් භෞතික ලෝකය නිර්මාණය වෙනවා. ආපෝ, තේජෝ, වායෝ, පඨවි, ආකාස, විඤ්ඤාණ කියන කොටස් හයකින් යුතු ලෝකය බිහි වෙනවා.

දැන් මේ ධාතු හයට මුල් වෙන්නෙ සත්ත්වයා විසින් ඒ ඒ මොහොතේ ගන්නා වූ ගති ලක්ෂණ. මේ වගේ නිර්මාණය වුනාට පස්සෙ, ලෝක සත්ත්වයෝ "මම, මගේ" කියල කොටස් දෙකක් බලාපොරොත්තු වෙනවා. "මම" කියන කොටස ආස්වාද භුක්තිය බලාපොරොත්තුවෙන් ඉන්නවා.

“මගේ” කියන කොටස ආස්වාදයට ආධාරක වෙමින් භුක්තියට ගෝචරව හටගන්නවා. “මම” කියන කොටසට කොහේ හරි ඊට ගැලපෙන ඇස, කන, නාසය, දිව, ශරීරය, මන කියල ඉන්ද්‍රියන් හයක් හැදෙනවා. “මගේ” කියන කොටසට “මම” කියන ඉන්ද්‍රියන් හයට ගෝචර වන රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධර්ම කියල බාහිර ලෝකය බිහි වෙනවා.



මෙන්න මේ විදිහට අපි නිපදවපු ගති ලක්ෂණ අනුව ඊට අනුකූල “මම, මගේ” කියන කොටස් පහළ වෙනවා. **“මම” ද්වේශයෙන් හට ගත්ත නම් “මගේ” කියන කොටස ගින්නෙන් හට ගන්නවා. ද්වේශයෙන් නැගුන ගිනි කයට ගිනි ආහාර ඇති තැනක් තියෙනවා. ගිනි කයට ගිනි ලෝකය ඔරොත්තු දෙනවා. මැරෙන්නෙ නෑ. ඒ වගේම ඒකට උරුම දුක දාහය විඳින්න වෙනවා. “මම” කියන කොටස මෝහයෙන් හට ගත්ත නම් “මගේ” කියන කොටස තද ගතියෙන් හටගන්නවා. පණුවො පොළොව යට ජීවත් වෙනවා. උන්ට ජීවත් වෙන පරිසරය වෙන්නෙත්, ආහාර ලැබෙන්නෙත් පොළොවෙන්මයි. මෝහාධිකයාට උරුම වුනේ තද ගතියෙන් යුතු පොළොව. “මම” කියන කොටස ලෝභයෙන් හට ගත්ත නම්, ලෝභ අධිකයාට සුදුසු ජලයෙන් යුතු පරිසරයක්. ඒකට සුදුසු කයක් ඔවුන්ට** ලැබෙනවා. මේ ලෝභ, ද්වේශ, මෝහ තුනෙන් හට ගන්න ක්‍රමයට කියනවා, කල්ලං කල්ල විපාකං කියල. කළු හෙවත් පාප කර්ම කරපු සත්ත්වයන්ට ඒවාට අදාළ කළු විපාක ගෙවන්න හේතු ඵලයක් විදිහට හැදුනු පරිසරය උරුම වෙනවා.

ඊළඟට කල්ල සුක්ඛං කල්ල සුක්ඛ විපාකං කියල හොඳ නරක දෙකේ මිශ්‍රණයකින් හැදුන පරිසරයක් තියෙනවා. ලෝභ, ද්වේශ, මෝහ කියන්නෙ කළු. අලෝභ, අද්වේශ, අමෝහ කියන්නෙ සුදු. කළු සුදු කර්ම මිශ්‍රව කරපු අයට ඒවායේ විපාක මිශ්‍රව ලැබෙන විදිහට හැදුනු ලෝක පරිසරයක් උරුම වෙනවා. ඒ කියන්නෙ ජල, පස්, ගිනි, සුළං සියල්ල ඇසුරු කරන පරිසරයක් තුලින් කළු සුදු විපාක විඳින්න හේතු ඵල සකස් වෙනවා. ඒ නිසා මිනිස්, තිරිසන් සහ භූමාටු දේව... ආදී කොට්ඨාස කළු සුදු දෙකම විඳින ජීවීන් බවට පත් වෙනවා. ඔවුන් ආහාර ගන්න කොට ගින්නත් පරිහරණය කරනවා. ඒ වගේම පස්, ජල, වායු කියන ඒවත් පරිහරණය තුලින් ආහාර සකස් කර ගන්නවා. ඒ තමයි පොළොව මතු පිට ජල, පස්, ගිනි, සුළං කියන සියල්ල ඇසුරු කරමින් ඉන්න ජීවීන්ගෙ ස්වභාවය.

ඒ වගේම සුක්ඛං සුක්ඛ විපාකං කියල, සුදු කර්මවලට සුදු විපාක විඳින පරිසරයකුත් බිහි වෙනවා. අලෝභී පුද්ගලයන්ට ඒ ගතියට ගැළපෙන වායුමය නිදහස් පරිසරයක් බිහි වෙනවා. ඒ නිසා ගන්ධමය මට්ටමෙන් හැදුන සුගන්ධවත් පරිසරයක් මිනිස් පරිසරයෙන් උඩට යනකොට පිහිටනවා. කාම දේව කොට්ඨාසවලට සුදු විපාක ගෙවන්න බිහි වෙන පරිසරය තමයි ඒ. සුදු විපාක ඊළඟ මට්ටමෙන් විඳින කොට්ඨාසය තමයි රූපාවචර බ්‍රහ්ම කියන්නෙ. ආලෝකමය පරිසරයක් ඔවුන්ට හිමි වෙනවා. ඊළඟ මට්ටම තමයි අමෝහී පරිසරය. ඒ කියන්නෙ අරූපී බ්‍රහ්මයන්ගෙ වාසස්ථානය. ඒ අය විඤ්ඤාණ ධාතුව පරිසරය කරගෙන විඤ්ඤාණ මට්ටමේ කයක් දරාගෙන ඉන්නවා. ඒකෙ සැරිසරන්න දෙයක් නෑ, අලෝභී, අද්වේශී පරිසරයන්ට වඩා ඒ අමෝහී පරිසරය නිදහස්. ඒ මට්ටම ඉක්ම ගියාට පස්සෙ නොපෙනෙන කොටසට වැටෙනවා. ඒ කියන්නෙ අරූපයි. අල්ල ගන්න දෙයක් නෑ. හැබැයි ජීවත් වීමේ ආසාව තියෙනවා. මෙන්න මේ ක්‍රමයට සක්වල තුල සත්ත්වයන්ට ජීවත් වෙන්න ලෝක තල පිහිටනවා. බලවත් දේ මධ්‍ය කරගෙන අනු පිළිවෙලට පිහිටනවා.

**ලෝභී පුද්ගලයා ඇලෙන සැලෙන ස්වභාවයෙන් යුතුව ආස්වාද බලාපොරොත්තු වෙනවා. කාම සම්පත් අන්‍යොන්‍ය වශයෙන් විඳින්න බලාපොරොත්තු වෙනවා. මෝහී පුද්ගලයා තද බවින් යුක්තයි. අල්ල ගත්ත දේ අතහරින්න කැමති නෑ, කාටවත් දෙන්න කැමතිත් නෑ. ද්වේශී පුද්ගලයා සටන් කරනවා. හොඳ නරක බලන්නෙ නෑ. යුතු අයුතුකම් බලන්නෙ නෑ. තමන්ගෙ වැඩේ කොහොම හරි කරගන්නවා.**

මේ ගති තුන අතරින් බලවත් වෙන්නෙ ද්වේශ ගතිය. **ද්වේශයෙන් නිපදවෙන ගිනි රූප බලවත් නිසා භෞතික ලෝකයේ ගිනිවලට බලවත් තැන එනවා. ඒ බලවත් වෙච්ච රූප කලාප පොදු ලෝකයේ මධ්‍යය අල්ල ගන්නවා. පෘථිවිය මැද ගිනි වෙන්න හේතුව ඒකයි.** හේතුවට අනුව ඵලය පිහිටනවා. හේතුවක් නැතිව ඵලයක් හටගන්න බෑ. **යම් ඵලයක් හට ගන්න හේතුව හරියට කියන්න බැරි නම් ඒක විද්‍යාවක් නෙවෙයි.** “ඒක වෙන්නෙ එහෙම තමයි, එහෙම වෙන්න ඇති...” ආදී වශයෙන් නිකං අඩමානෙට කියල හරියන්නෙ නෑ. එහෙම කියන්නෙ හරියට දන්නෙ නැති නිසා. නැත්නම් අවිද්‍යාව නිසා. විද්‍යාව නම් හරියට හේතු කියන්න පුළුවන් වෙන්න ඕන. හරියට හේතු පෙන්වන්න පුළුවන් රටාවක් තියෙනව නම් ඒක තමයි විද්‍යාව කියන්නෙ. අද සම්මත විද්‍යාව අනුව වුනත් පරීක්ෂණ, නිරීක්ෂණ, නිගමන තුලින් විද්‍යාඥයින් කරන්නෙත් හේතු ඉදිරිපත් කරන එක. එහෙම පෙන්වන ඒවායේ හේතු සම්පූර්ණ නැත්නම්, පස්සෙ ඒ අයම තර්ක කරල ඒක වැරදියි කියල ඔප්පු කරල අලුත් හේතු පෙන්වනවා. තව විද්‍යාඥයෙක් ඒක බිඳිනකල්, ඒක හරි කියල හැමෝම පිළිගන්නවා. ඔන්න ඔය විදිහට තමයි නවීන විද්‍යාව කියන එක අද පවතින තත්ත්වයට ඇවිත් තියෙන්නෙ.

නියමාකාර විද්‍යාඥයෙක් හිටිය නම් නැවත කඩන්න බිඳින්න බැරි වෙන්න හරියටම හේතු දක්වන්න පුළුවන් වෙන්න ඕන. ඊට පස්සෙ තව දුරටත් ඒක වෙනස් කරන්න බෑ. මොකද ඒක තමයි ලෝකයේ පවතින සත්‍යය, නියමය. නියමයක් නම් ඒක කවදාවත් වෙනස් වෙන්නෙ නෑ. මත ඉදිරිපත් කළොත් ඒවා කාලයෙන් කාලයට වෙනස් වෙනවා. මොකද ඒවා සත්‍යය නොවන නිසා. ඔන්න ඔය විදිහට නියම හේතු හොයාගන්න බැරි වුනාම, ඒවා නැවත වෙනස් කරමින් ඉදිරියට යන එක තමයි ලෝක සත්ත්වයාගේ විද්‍යාව හෙවත් හරි විදිහට කියනව නම් අවිද්‍යාව. අද ආකර්ෂණ නියමවලටත් වෙලා තියෙන්නෙ ඕකම තමයි. ඒකට නියම හේතුව දැකල නෑ. දැන් මේවා එකින් එකට බලවත් වෙන්නෙ ඇයි කියල දන්නෙ නෑ.

මෝහාධික පුද්ගලයා ලෝභයෙන් / රාගයෙන් යටපත් කරන්න බෑ. ඒ ජාතියේ හැඟීම් ඔවුන්ට නෑ. අල්ල ගත්ත එක අල්ල ගත්ත මිසක් ඒක පරිහරණය කරන්නෙත් නෑ. කාටවත් දෙන්නෙත් නෑ. තද කරගෙන හිර කරගෙන ඉන්නවා. ලෝභාධික / රාගික පුද්ගලයා ගහ බැන ගන්න යන්නෙ නෑ. රවට්ටල වසඟ කරගන්න දක්ෂයි. ලෝභ පුද්ගලයගෙ සටන අන්න ඒ වගේ. ද්වේශ පුද්ගලයො ඒ වගේ නෙවෙයි. ගහල මරල කොටල හරි ගන්න එක තමයි ඔවුන්ගෙ ගතිය. මෝහාධිකයගෙ ගති ලක්ෂණය ඔය දෙකම නෙවෙයි. කොහේ හරි ආස්වාදයක් ලැබුව නම් එතනට හිර වෙනව මිසක් ඒක වෙනස් කර ගන්න, පරිවර්තනය කර ගන්න ශක්තියක් ඔහුට නෑ. එතනම එල්බගෙන තද වෙලා ඉන්නවා. ලෝභාධික / රාගාධික පුද්ගලයට රාග උපක්‍රම දාල මෝහාධිකයාව නම්ම ගන්න බෑ. රාගාධික පුද්ගලයෙක් නම් ලස්සන පෙන්වල රවට්ට ගන්න පුළුවන්. මෝහාධිකයා ඒවාට යටත් කර ගන්න බෑ. ද්වේශාධික පුද්ගලයා ළඟට, අල්ලා ගැනීමෙන් බලවත් වෙන්නෙ මෝහාධික පුද්ගලයා. ඒ නිසා ගිනි මට්ටමට පිටින් තියෙන ස්ථරය තද බවින් පිහිටනවා. අල්ලා ගැනීම අතින් ඊළඟට බලවත් වෙන්නෙ ලෝභාධික පුද්ගලයා. ඒ නිසා ඊළඟ මට්ටම තමයි සිසිල හොයන සුවය හොයන ජල මට්ටම. ඒකෙන් අඩු තැන් පිරෙනවා. සම වෙන්න බලනවා. ඒ නිසා බලවත්කම අතින් තුන් වන ස්ථානය ජලයට හිමි වන නිසා තුන්වන ස්ථරය විදිහට ජලය පිහිටනවා.

අලෝභී පුද්ගලයන්ට අල්ල ගන්න බලාපොරොත්තුවක් නෑ. සැහැල්ලුවෙන් ඉන්න බලනවා. ඒ නිසා ඒ පුද්ගලයො අනෙක් අය සමග පොරකාල තරඟ කරන්න යන්නෙ නෑ. ජීවිතය හරි සැහැල්ලුයි. එක තැනක් අල්ලගෙන නැති, සැරිසරන ගති ලක්ෂණයෙන් යුක්තයි. වායෝ ධාතුව තමයි ඒ ගති ලක්ෂණයේ හේතු ඵලය. ඒ නිසා ඊට පස්සෙ වායුමය ස්ථරය පිහිටනවා. අද්වේශ පුද්ගලයගෙ මනස හරි පැහැපත්, ආලෝකමත්. ඒ පුද්ගලයා ආලෝකය ඇසුරු කරගෙන ඉන්නවා. අමෝහී පුද්ගලයා ලෝකයේ කිසිම තැනක ඇලිල නෑ, ගැටෙන්නෙත් නෑ. කාමයේ සැරිසරන්නෙත් නෑ. නිදහස් ගති ලක්ෂණයෙන් යුක්තයි. හැබැයි ජීවිත ආසාව තියෙනවා. හිත තියෙනවා. ඒත් විසුරුවල අල්ලගන්න යන්නෙ නෑ. ඒ තමයි විඤ්ඤාණ මට්ටම. ලෝකයේ රූප ධර්ම ඉක්මවා ගිය නාම ධර්මයක් විදිහට ඊළඟට විඤ්ඤාණ ධාතුව පිහිටනවා.

චක්‍රවාල, එහෙම නැත්නම් සක්වල කියල දෙයක් තියෙනවා. අපි වහළක් හදාගෙන ඉන්නවා. රාගක්ඛය, ද්වේශක්ඛය, මෝහක්ඛය කරල නිවන් පූර්ණ කරනකල් ලෝකයේ කොහේ හරි තැනක් අල්ලගෙන ඉන්නෙ. ලෝකයේ පංච මහා භූත ඇසුරෙ ඉඳගෙන ඒවට වැහිල ආලය කරනවා. **වහගෙන ආලය කරන නිසා වහ + ආල - වහළ කියනවා.** තමන්ට ඕන දේ අල්ල ගන්නෙත්, එපා දේ අයින් කරන්නෙත් ඔය වහගෙන ආලය කරන තැනට වෙලා. **අපි යමක් වැරදුන ගමන් "චක්" කියනවා. ඒකට ජාති කුල භේද ආගම් භාෂා විශේෂයක් නෑ. යමක් වැරදුනාම එන ගති හඬ තමයි "චක්" කියන්නෙ. චක් කරගෙන වහ ගෙන ආලය කරනවා. ඒ තමයි චක්‍රවාල කියන එකේ නිරුක්තිය.**

සක්වල කියල ගත්තොත් ඒකට මේ විදිහට නිරුක්තියක් දෙන්න පුළුවන්. සක් කියන්නෙ සුද්ධ දේට. සක් හඬ කියන්නෙ සුද්ධ හඬ. **වහගෙන ආලය කරන ගමන් සුද්ධ දෙයක් හොයාගන්න බලන නිසා සක්වල කියනවා.** දැන් මේ සක්වලක් හැදෙන්නෙ කොහොමද? සත්ත්වයන්ගෙ තියෙන ගති ලක්ෂණ නිසා. සක්වලක් කියන්නෙ සත්ත්වයන්ගෙ පොදු ගති ලක්ෂණ අනුව හේතු ඵලයක් විදිහට ගොඩ නැගෙන දෙයක් මිසක්, කවුරුවත් මවපු දෙයක් හෝ ඉබේ හටගත්ත දෙයක් නෙවෙයි. අපේ සක්වල විතරක් නෙවෙයි, කොයි සක්වලත් එහෙම තමයි. ලෝක සත්ත්වයන්ගේ පොදු ගති ලක්ෂණ සමාන නිසා, කොහේ හිටියත් සත්ත්වයන්ගෙ චිත්ත සන්තානයේ ඒ ගති ලක්‍ෂණ ඇතිවන නිසා, කොහේ පහළ වුනත් ඔක්කොම සක්වලවල් එකම විදිහට හැදෙන්නෙ, වෙනස් වෙන්න හේතු නෑ. මෙන්න මෙහෙම තමයි ආකර්ෂණ නියමය ක්‍රියාත්මක වෙලා භෞතික ලෝකය නිර්මාණය වෙන්නෙ.

දැන් භෞතික ලෝකයේ විතරක් නෙවෙයි, පුද්ගලයන් ගත්තත් ගතියට ගතිය ආකර්ෂණය වෙනවා. ලෝභ ගතිකයාට ලෝභ ගතිකයා ආකර්ෂණය වෙනවා. ඔවුන් කටයුතු කරන්නෙත් එක විදිහට. ඇසුරු කරන්නෙත් ඒ වගේ පිරිස. ද්වේශ ගති තියෙන අය ද්වේශ ගති තියෙන අය සමග හිතවත් වෙනවා. චන්ඩි, චන්ඩි එක්ක හිතවත්. චන්ඩිකම්, ලොකුකම්, බල පුළුවන් කාරකම් ඔවුන් වර්ණනා කරනවා. ගති වශයෙන් ලෝක සත්ත්වයා මේ විදිහට ආකර්ෂණය වෙනවා. මුළා ගති ඇත්තාට මුළා ගති ඇත්තා ආකර්ෂණය වෙනවා. අනිත් අයත් එක්ක ඔවුන්ට හැපෙන්නත් බෑ. තරඟ කරන්නත් බෑ. ඔහේ එකතු වෙලා ඉන්නවා. අලෝභ ගති ඇත්තන් අලෝභ ගති ඇත්තන්ට ආකර්ෂණය වෙනවා. අද්වේශ චරිත වලට අද්වේශ චරිත ආකර්ෂණය වෙනවා. භික්ෂූන් වහන්සේලා, තාපසයන් ආදී නෙක්ඛම්මය ඇසුරු කරන්න කැමති අය ඒ විදිහට ආකර්ෂණය වෙනවා. අමෝහ ගති ඇත්තන් අමෝහ ගති ඇත්තන්ට ආකර්ෂණය වෙනවා. ඔවුන් හදාගන්න පරිසරය තුලින් ඔවුන් එකතු වෙනවා. ඔන්න ඔය විදිහට තමයි අදාළ ගති අනුව ලෝක සත්ත්වයා ආකර්ෂණය වෙලා නියමිත පරිසරය තුල පිහිටන්නෙ.

මේ සංකලනය වන මාධ්‍ය තුල ගති නිර්මාණය කරගන්න මූලික තැන තමයි මනුස්ස ලෝකය. යම් ගතියක් හදා ගත්ත නම්, ගතියට ගතිය ආකර්ෂණය වෙලා මැරෙනකල් එකතු වෙලා ඉන්නවා. මැරුණට පස්සෙ අදාළ ගතියට අයිති තැනට ගිහින් සම්බන්ධ වෙනවා. උදාහරණයක් විදිහට ද්වේශ ගති ඇත්තා මිනිස් කයක් දරාගෙන ද්වේශ චරිතත් එක්ක එකට ආකර්ෂණය වෙලා ඉඳල මැරෙන දවසට ඒ කය නැවත ලබන්න හේතු නැතිව යනවා. ගිනි ගතියට අදාළ ගිනි තියෙන තැන ඉපදෙන කොට කියනවා, ද්වේශ සහගත පුද්ගලයා ගිනි අපායෙ ගිහින් ඉපදුනා කියල.

ඒ විදිහට යන්නෙත් ගති ආකර්ෂණය අනුව තමයි.

දැන් ඔය ස්කන්ධ කියන්නෙ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණවලට. මෙන්න මේ ස්කන්ධයන්ගෙන් ඇතිවන ගතිවලට සමානුපාතික ආකර්ෂණයක් ලෝකයේ නිර්මාණය වෙනවා. ඒකට තමයි ස්කන්ධ සමානුපාතික ආකර්ෂණය කියල කිව්වේ. යමක් පොළොවට වැටෙනව දැකල අපි නිගමනය කරනවා, බර දේවල් පොළොවට ඇදෙනව කියල. ඒ විදිහට අපි අද ඉතා පටු තැනක ඉඳල ආකර්ෂණ නියමයක් හදාගෙන තියෙනවා. නවීන විද්‍යාවේ ආකර්ෂණ නියම කියන්නෙ ඔය වගේ පටු තැනක ඉඳගෙන හදාගත්ත ඒවා. ස්කන්ධ සමානුපාතික ආකර්ශන නියමය දැක්කට පස්සෙ සක්වල හැදුන හැටි, පෘථිවියේ ස්ථර පිහිටල තියෙන හැටි, විවිධ සත්ත්වයන් හැදිල තියෙන හැටි, සත්ත්වයින් චුත වෙලා නැවත වෙන තැනකට යන්න හේතුව... ආදී සියල්ල පැහැදිලි කරන්න පුළුවන්. එතකොට තමයි නියම විද්‍යාවක් වෙන්නෙ. අද තියෙන ආකර්ෂණ නියමවලින් මේවා විස්තර කරන්න බෑ.

අද ඇහුවොත් මිනිහෙක් තවත් මිනිහෙකුට ආකර්ෂණය වෙන්නෙ ඇයි කියල, අද තියෙන නියමවලින් ඒක කියන්නෙ කොහොමද? මොන නියමයද යොදාගන්න පුළුවන්? ලොකු දෙයට පොඩි දෙය ඇදෙනවා කියන නියමයද? දැන් මනුස්සයින් - මනුස්සයින් අතර ආකර්ෂණයක් නෑ කියන්නද? ඒ වගේම මනුස්සයින් - මනුස්සයින් අතර විකර්ශනයක් නැත්ද? මට ඕකව ඇහැට පේන්න බෑ, ඉන්න පැත්ත පළාතකවත් මම නම් යන්නෙ නෑ කියන පුද්ගලයො නැත්ද? සමහර පුද්ගලයන් මේ විදිහට විකර්ෂණය වෙනවා. ඒ වගේම සමහර පුද්ගලයන් එකටමයි ඉන්නෙ. කොහේ ගියත් එකතු වෙනවා. ඒ නිසා ආකර්ෂණය කියන එක බරෙන් පෙන්වන්න පුළුවන් දෙයක් නෙවෙයි.

දැන් බර අයින් කළොත් ආකර්ෂණය නැත්ද? මේක පෙන්වන්නෙ කොහොමද? බේබද්දාට බේබද්දා ආකර්ෂණය වෙනවා. එතනදි පුද්ගලයන්ගෙ ප්‍රමාණයන් වෙනස් වෙන්න පුළුවන්. ලොකු පොඩි වෙන්න පුළුවන්. හැබැයි ඒවා නෙවෙයි ආකර්ෂණයට හේතු වෙන්නෙ. මෙතන තියෙන්නෙ ගති සමානතාවයක් මිසක් බර සම්බන්ධයක් නෙවෙයි. ස්කන්ධයන්ට සමානුපාතික බවක් ඇත්ද, ඒ නිසා ගතියට ගතිය, ද්‍රව්‍යයට ද්‍රව්‍යය... ආදී වශයෙන් ඕනෑම එකකින් ආකර්ෂණය පෙන්වන්න පුළුවන්. ගතියට අනුකූල දේවල් නිෂ්පාදනය වෙලා අනුකූල දේට අනුකූල දේ ආකර්ෂණය වෙනවා.

(ඉතිරි කොටස ඊළඟ කලාපයෙන්...)

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් නැවත මතු කරන ලද සැඟවුනු දහම් කරුණු සමගින් සකස් කළේ:*

**චතුර හිඳුරංගලගේ**
**නුගේගොඩ**
**0777 302407**

# නැවත මතක් කිරීමයි

පසුගිය කාල වකවානුවල වගේම මේ දිනවලත් රටේ හැම තැනම පැතිරිලා යන ඩෙංගු වසංගතය ඇතුළු විවිධ වෛරස් උණ රෝග සඳහා මීට කලිනුත් මේ සඟරාවෙන් හඳුන්වා දුන් උණ බොඩ ඉස්ම බේත සාර්ථක ප්‍රතිඵල ලබා දීල තියෙනවා. කිසිම වියදමක් නැතිව හදාගෙන පාවිච්චි කරල, ඉතා කෙටි කාලයත් තුළ ප්‍රතිඵල ලබාගන්න පුළුවන් ඒ බේත ගැන වැඩි විස්තර හෙළ බොදු පියුම 18 කලාපයේ පළකරල තියෙනවා.



සියලු සත්ත්වයෝ නිබ්බාණ පරම සුඛයෙන් සුඛිත තර වෙත්වා!

අභයරතනාලංකාරය - 69

# භව ගමනේ නිමාව දුටු යතිවරයාණෝ...



\- වහරක අභයරතනාලංකාර හිමි

වහරක අභයරතනාලංකාර හිමියන් මේ භව ගමනින් සමුගන්න දිනයේ ඒ සිද්ධිය දැකපු සමාධි වැඩූ තවත් පින්වතුන් පින්වතියන්, උත්තම උත්තමාවියන් අප්‍රකටව ඉන්නවා. ඒ අවස්ථාවේ සමාධිගත වෙලා ඒ සිද්ධිය දැකපු තවත් භාවනානුයෝගී උත්තමාවියක් තමන්ගෙ නම් ගම් හෙළි නොකරන ලෙස ඉල්ලමින් සිය අත්දැකීම් මේ විදිහට විස්තර කළා.

"කෙනෙක් අරිහත් ඵලයට පත් වුනාද නැත්ද කියල වෙන කෙනෙකුට කියන්න බෑ. මේ උත්තමය රහත් ඵලයට පත් වුනා කියල හරියටම දැකල ප්‍රකාශ කරන්නෙ සම්මා සම්බුදුවරයාණන් වහන්සේ නමක්. එහෙම නැත්නම් ඒ පූර්ණ කරපු උත්තමයා විසින්ම, මම රහත් ඵලය පූර්ණ කළා කියල ප්‍රකාශ කරන්න ඕන. ඒ ක්‍රම දෙකෙන් විතරයි තවත් කෙනෙකුට හරියටම දැනගන්න පුළුවන් වෙන්නෙ මේ රහත් උත්තමයෙක් කියල. එහෙම නැතුව කෙනෙකුට කොච්චර සමාධි තිබුනත් ඒ කාරණය එල්ල කරල කියන්න බෑ.

එහෙම නැත්නම් යම් කිසි කාරණාවන් උඩ අපට අනුමාන කරන්න විතරයි පුළුවන්, මේ උත්තමය රහත් ඵලය පූර්ණ කළාද නැත්ද කියල. මොකද රහත් ඵලය පූර්ණ කර ගන්න සංයෝජන ධර්ම 10 ම බිඳිල තියෙන්න ඕන. ඒ ටික වෙන්නෙ කොහොමද කියල හොඳින් දැනගෙන ඉඳල, අහගෙන ඉඳල, ඒ උත්තමය ඇසුරු කරල ඒකෙන් විතරයි අනුමානයක් හරි කරන්න පුළුවන් වෙන්නෙ. එහෙම නැත්නම් ඒ පූර්ණ කරපු උත්තමය තමයි දන්නෙ පූර්ණ කළාද නැත්ද කියල. ඒකටත් ප්‍රත්‍යවේක්ෂා ඥානය තියෙන්න ඕන. හැබැයි ප්‍රත්‍යවේක්ෂා ඥානය තිබුනෙ නැත්නම් ඒ කාරණය දැනගන්න හරි අමාරුයි. අනුමානයක් තමයි එතකොට කරන්න වෙන්නෙ.

ඉතිං මම මේ කියන්නෙ, වහරක අභයරතනාලංකාර හාමුදුරුවො සූක්ෂම කයින් / මනෝමය කයින් ඉඳගෙන කරපු ප්‍රකාශයක්. උන්වහන්සේ මේ මස් ලේ කයින් ඉවත් වෙලා සූක්ෂම කයින් ඉඳගෙන තමයි රහත් ඵලය පූර්ණ කළා කියල ප්‍රකාශ කළේ. රහත් ඵලය පූර්ණ කරපු ආකාරය නෙවෙයි මම දැක්කෙ, ඒ කරපු ප්‍රකාශය විතරයි. උන්වහන්සේ අධිෂ්ඨාන කරල තිබිල තියෙනවා, භාවනා වඩපු අයට, සමාධි වඩපු අයට ඒ තුලින් ඒ ප්‍රකාශය දකින්න කියල (නාම ගෝත්‍ර හරහා).

උදාහරණයක් විදිහට රහත් උත්තමයෙක් පිරිනිවන් පානව නම්, ඊට පෙර අධිෂ්ඨාන කරන්න පුළුවන්, මේක සිද්ධ වෙච්ච ආකාරය දකින්න කියල. එහෙම නැත්නම් ලෝකයාට යම් කිසි ප්‍රකාශයක් කරන්න පුළුවන්, මම මෙන්න මේ අවස්ථාවෙදි මේ ආකාරයට රහත් ඵලය පූර්ණ කළා කියල. එතකොට ඒ මට්ටමේ සමාධි වඩපු කවුරුහරි ඉන්නව නම්, ඒ සමාධියට සම වැදිල බලනකොට ඒ කරපු ප්‍රකාශය, උන්වහන්සේ දුන්න අවවාද ඇතුළු ඒ සියල්ලම දකිනවා.

වහරක අභයරතනාලංකාර හාමුදුරුවො රහත් ඵලය පූර්ණ කරගෙන කරපු ප්‍රකාශය අනික් අයට බලාගන්න පුළුවන් වෙන්න උන්වහන්සේ අධිෂ්ඨාන කරල තිබුනා. ඒ කියන්නෙ යම් කිසි කෙනෙක් සමාධිගත වෙලා නැවත ඒකට යොමු වෙලා, ගැඹුරුම තැනක ඉඳගෙන බැලුවොත් තමයි ඒ කාරණය පේන්නෙ. මම මේ කියන්නෙ හරිම විදිහට බලනව නම්. මං හිතන විදිහට ඒක නිකං මේ ලෞකික දැහැන් එක්ක බලන්න අමාරුයි. මේ අවස්ථාව උන්වහන්සේ අරිහත් ඵලය පූර්ණ කරගෙන අධිෂ්ඨාන කරපු අවස්ථාවක්. ඒක නිකං සෙල්ලම් එකක් නෙවෙයි.

එතකොට උන්වහන්සේ රහත් ඵලය පූර්ණ කරපු ආකාරය මම දන්නෙ නෑ. පූර්ණ කළා කියන ප්‍රකාශය විතරයි මම දැක්කෙ. උන්වහන්සේ මනෝමය කයින් ඉඳගෙන යම් කිසි ඍද්ධිවිධ පාවිච්චි කරල තමයි ඒ ප්‍රකාශය කළේ. අනෙක් කාරණය තමයි ඒ ප්‍රකාශය උන්වහන්සේ ඊට පෙර අධිෂ්ඨාන කරල කිව්වද, ඒ මොහොතෙ කියල අධිෂ්ඨාන කළාද කියලත් මම දන්නෙ නෑ. ඒ කියන්නෙ ඒ ප්‍රකාශය කරපු වෙලාව මම දන්නෙ නෑ. මොකද මම දැක්කෙ සූක්ෂම කයින් ඉඳගෙන කරපු ඒ ප්‍රකාශය විතරයි. ඒක මස් ලේ කයින් ජීවතුන් අතර ඉඳෙද්දිම මනෝමය කයින් කිව්වද, ඒකෙන් පිටවෙලා ගිහින් කිව්වද මම දන්නෙ නෑ. දන්න එකම දේ තමයි සූක්ෂම කයේ ඉඳගෙන මේ සියල්ල ප්‍රකාශ කළා කියන කාරණය. ඒ වෙලාවෙ උන්වහන්සේගෙ ශරීරයට සවි කරල තිබ්බච්ච වෛද්‍ය උපකරණත් සියල්ල නැවතිලා තිබුනෙ.

උන්වහන්සේ මේ අනුසාසනයත් ලෝකයට කියන්න කිව්වා. **ගෞතම බුදුන් වහන්සේගෙ සාසනයේ යම් කිසි දහම් කොටසක් වැහිල ගිය කාල සීමාවකයි මම ඇවිත් ඒ දහම නැවත විවර කරල දුන්නෙ, එහෙම නැතුව වෙනම කොටසක් නෙවෙයි, මම නැවතත් ඒ කොටස් ඒ ආකාරයෙන්ම දේශනා කළා, සියළු සත්ත්වයන් උදෙසා තමයි මම මේ ගෞතම බුද්ධ සාසනයේ නියම ධර්මය නැවත විවෘත කරල පහදල දුන්නෙ, ඒ දේශනා කළේ බුදුන් වහන්සේගෙ ශ්‍රී සද්ධර්මය, ඒ දහම් කරුණු අනුව මාර්ගය වඩාගෙන ගිහින් රහත් ඵලය පූර්ණ කර ගන්න, මම වෙනුවෙන් මොනව හරි කරනව නම්, හරියට පෙන්වපු**

**ඒ දහම් කොටස් ඔස්සේ මග වඩාගෙන සෝවාන්, සකෘදාගාමී, අනාගාමී, අරිහත් ඵල පූර්ණ කර ගන්න කාලය මිඩංගු කරගන්න කියන එක තමයි උන්වහන්සේගෙ අන්තිම අනුසාසනාව.** අන්න ඒ ප්‍රකාශය මම දැක්කා. ඊට පස්සෙ උන්වහන්සේ රහත් ඵලය පූර්ණ කළා කියන ප්‍රකාශයත් කළා. ඒ ප්‍රකාශය දැන් වුනත් ගැඹුරු භාවනා ශක්තියක් තියෙන කෙනෙකුට දකින්න පුළුවන්. මට ඒක දැන් බැලුවත් පේනවා. හරියට අපි යම් කිසි පටිගත කරපු පටියක් ක්‍රියාත්මක කරල නැවතත් අහනව වගේ. උන්වහන්සේ මහ රහත් ඵලය පූර්ණ කරල පිරිනිවන් පෑවා.

ඒ ප්‍රකාශය හැර, රහත් ඵලය පූර්ණ කළේ මොන අවස්ථාවෙ මොන වෙලාවකද කියන එක මම දන්නෙ නෑ. සමහර විට උන්වහන්සේ ඒක අධිෂ්ඨානයකින් කිව්ව වෙන්නත් පුළුවන්. එහෙම නැත්නම් රහත් ඵලය පූර්ණ වෙනවත් එක්කම මේ ප්‍රකාශය මේ විදිහට වෙන්න කියල අධිෂ්ඨාන කළා වෙන්නත් පුළුවන්. එක්කො මේක මේ විදිහට සිද්ධ වෙනව කියල දැනගෙන, භෞතික කයේ ඉඳගෙනම ඉස්සෙල්ල අධිෂ්ඨාන කරල ඒ විදිහටම ඒක සිද්ධ වෙලා ඊට පස්සෙ පිරිනිවන් පෑව වෙන්නත් පුළුවන්. එහෙමත් නැත්නම් රහත් ඵලය පූර්ණ කරපු සැනින් පිරිනිවන් පාන්න ඇති. කොහොම හරි මේ ප්‍රකාශය දකින්න කියල අධිෂ්ඨාන කරල තියෙන බව උන්වහන්සේ කිව්වා. උන්වහන්සේ අනිත් අයටත් පේන්න කියල අධිෂ්ඨාන කරල කියපු ඒ ප්‍රකාශය විතරයි මම දකින්නෙ.

වතාවක් බුදුන් වහන්සේ දිව්‍ය ලෝකයට වැඩම කරල දෙවියන්ට ධර්ම දේශනා කරල, ඒ ලෝකෙ ඉඳගෙනම බණ දේශනා කරන ආකාරය මැවෙන්න කියල අධිෂ්ඨාන කරල නැවතත් මනුස්ස ලෝකයට වැඩිය කියල ධර්මයේ සඳහන් වෙනවා. එතකොට ඒ දෙවිවරුන්ටත් තමන් ඉදිරියේ බුදුන් වහන්සේ බණ කියනව වගේ තමයි පෙනුනෙ. අන්න ඒ වගේ දෙයක් මෙතනදිත් වෙන්න පුළුවන්. ඒ නිසා ඇත්තටම මේ කාරණය මටත් මුලින් පැටලුනා. මම බැලුවා මොකක්ද මේ දකින්නෙ කියල. උන්වහන්සේගෙ භෞතික ශරීරය තියෙද්දි අර උත්තම ප්‍රකාශය සිද්ධ වුනා. හැබැයි උන්වහන්සේගෙ ඒ ප්‍රකාශය මම මුලින්ම දැක්කෙ නෑ. ඒක දැක්කෙ උන්වහන්සේ භෞතික කයෙන් සමු අරගෙන පැය කිහිපයක් ගියාට පස්සෙ.

ඉතිං වහරක හාමුදුරුවො රහත් ඵලය පූර්ණ කරගෙන පරිනිර්වාණය සිද්ධ වෙනවයි කියල විශේෂ පණිවිඩයක් එක්ක තමයි අධිෂ්ඨාන කරල ප්‍රකාශ කරල තියෙන්නෙ. ඒ පණිවිඩය තමයි වැදගත්ම දේ.

ඒ වගේම ඒ පණිවිඩය අනිත් අයටත් දැනුම් දෙන්න කියල උන්වහන්සේ ප්‍රකාශ කළා. මං වෙනුවෙන් යමක් කරනව නම් මේක සියළු දෙනාටම කියන්න කියලයි උන්වහන්සේ ප්‍රකාශ කළේ. අන්න ඒ ප්‍රකාශයත් එක්ක තමයි මම ඒ විශේෂ සිද්ධිය මේ විදිහට දැක්කෙ. උන්වහන්සේ මනෝමය කයේ ඉඳෙද්දිම මහ රහතන් වහන්සේ නමක් විදිහට පිරිනිවන් පෑවා.

එතකොට දැන් සමහර අයට උන්වහන්සේ තවමත් ආශිර්වාද කරනව වගේ පේනව කියනවා. එහෙම වෙන්නෙ උන්වහන්සේගෙ අධිෂ්ඨානයක් නිසා වෙන්න ඇති. එහෙම නැතුව ඇත්තටම පැවැත්මක ඉඳගෙන ආශිර්වාද කරනව නෙවෙයි. හැබැයි එහෙම පේන අයත් පරිස්සම් වෙන්න ඕන. විශේෂයෙන් දැනට සමාධි වඩන අය. මොකද එතනදි මෙහෙම දෙයක් වෙන්න පුළුවන්. උන්වහන්සේ යම් කිසි ආශිර්වාදයක් පිරිසට ලැබෙන විදිහට අධිෂ්ඨාන කරල තිබුනයි කියල හිතුවොත්, ඒත් මේ මාර පාක්ෂික බලවේගවලට ඕක අරගෙන තවත් විකාර කරන්න පුළුවන්. මොකද ඒ මාර පාක්ෂික බලවේගවලට ඒක බලාගෙන ඉඳල උන්වහන්සේ වගේ පෙනී ඉඳල, ඒ විදිහට මවල විවිධ ප්‍රකාශ කරල පින්වතුන් නොමග යවන්නත් පුළුවන්. උන්වහන්සේ මෙහෙම පණිවිඩයක් කිව්වා, මේක මේ විදිහට කරන්න කිව්වා... ආදී වශයෙන් උන්වහන්සේව මවල උන්වහන්සේගෙන් පණිවිඩ එන විදිහට රවටන්නත් පුළුවන්. මට උන්වහන්සේ සමග සම්බන්ධ වෙන්න පුළුවන් කියල පින්වතුන් නොමග යවල විකෘති කරල නොයෙක් අදහස් දෙන්න පුළුවන්.

එතනදි මුලින්ම උන්වහන්සේ ධර්මය සම්බන්ධයෙන් ප්‍රකාශ කරපු සත්‍ය දේවල් කියන්න පුළුවන්. පින්වතුන් ඒක පිළිගත්තට පස්සෙ ඒක වෙනත් දිසාවකට ඇදගෙන යන්න පුළුවන්. එතකොට අර හොඳට සමාධි තිබුන අය අතරමං වෙනවා. ඒ හරහා යම් කිසි කර්ම විපාකයකුත් ඵල දෙන්න පුළුවන්. හැබැයි ඒකෙන් වෙන්නෙ අර හොඳට සමාධි වඩල මාර්ගය පූර්ණ කරගන්න අවස්ථාව තිබිච්ච පින්වත් උදවියගෙ ඒ වැඩේ නවතින එක. මොකද ඒ අය ඇත්තටම හිතා ගත්තොත් ඒ වහරක හාමුදුරුවො කියල, හැබැයි ඒ වහරක හාමුදුරුවො නෙවෙයි මාර පාක්ෂික බලවේග. නමුත් මාර පාක්ෂිකයන්ට කොටු වුනාම ඒක තෝරගන්න ලැබෙන්නෙත් නෑ. කොහොම හරි උන්වහන්සේ මේ වෙනකොට නොපෙනෙන ලෝකයක කොහේ හරි තැනකට වෙලා බණ කියන්නෙ නෑ කියන එක නම් මට ස්ථිරවම කියන්න පුළුවන්. මොකද රහත් ඵලය පූර්ණ කරගෙන උන්වහන්සේ පිරිනිවන් පාල ඉවරයි. දැන් මේ තුන් ලෝකෙ කොහේවත් ඉන්නව කියල යොමු වෙන්නෙත් නෑ. කොහේ හරි පැවැත්මක ඉන්නව කියන්නෙ තවමත් අරිහත් ඵලය පූර්ණ කරල නෑ කියන එක.

කාටහරි උන්වහන්සේ බණ කියන හඬ තාමත් ඇහෙනව නම්, ආශිර්වාද කරනව පේනව නම්, ඒක අධිෂ්ඨානයක් පරිදි සිද්ධ වෙනව මිසක් උන්වහන්සේ කොහේවත් පැවැත්මක ඉඳගෙන බණ කියනව හෝ ආශිර්වාද කරනව හෝ නෙවෙයි. ඒ නිසා මාර පාක්ෂික බලවේග ක්‍රියාත්මක වෙලා රවටන්න පුළුවන්. මොකද මේ බණ අහන ඔක්කොම මාර්ගය පූර්ණ කරගෙන යන අය. ඒ අතර හොඳට සමාධි වැඩිච්ච අය, යම් යම් නොපෙනෙන දේවල් දකින්න පුළුවන් අය ඉන්න පුළුවන්. අන්න ඒ වගේ අය තමයි මාර පාක්ෂික බලවේග විසින් ඉස්සෙල්ලම ගොදුරු කරගන්න බලන්නෙ. එතකොට ඒ අය උපක්‍රම පාවිච්චි කරල මේ පිරිස්වල මනස වෙනස් කරන්න, අවුල් කරන්න පුළුවන්. උන්වහන්සේව මවල පෙන්වන්න පුළුවන්. ඒ හඬින් කතා කරන්න පුළුවන්. වැරදි අදහස් දෙන්න පුළුවන්.

වසවර්තී මාරයාටත් පුළුවන් වුනා නම් බුදුන් වහන්සේගෙ රූපයක් මවල ඒ වගේ හඬකින් කතා කරල බුදුන් වහන්සේ විදිහට රඟපාන්න, අනික් අය විදිහට රඟපාන එක ඒ හැටි දෙයක් නෙවෙයි. උන්වහන්සේ මට කතා කරනවා, ධර්මය දේශනා කරනවා කියල ඊට පස්සෙ සම්පූර්ණයෙන්ම විකෘති කරල දාන්න පුළුවන්. ඉස්සෙල්ලම බණ වගේ දෙයක් කියල පසුව තමයි මනස විකෘති කරන වෙනත් දේවල් දාන්න පටන් ගන්නෙ. එතකොට ඒ වගේ දෙයක් වහරක හාමුදුරුවො කියනව කියල කිව්වොත් උන්වහන්සේගෙ නමට නැවතත් නිගරු කළා වෙනවා. ඒකෙන් ඒ කියන කෙනාගෙත්

මග වැහිල ඔහුට විරුද්ධ පිරිසකුත් බිහි වෙන්න පුළුවන්. වහරක හාමුදුරුවන්ට විරුද්ධ පිරිස් කොහොමත් එදත් හිටියා, අදත් ඉන්නවා. ඒ අය තවත් දොස් කියන්න පුළුවන්. ඒකෙන් ඒ අය තවත් අවැඩක් කර ගන්නවා. ඒ නිසා බොහොම ප්‍රවේසම් වෙන්න ඕන.

උන්වහන්සේ ජීවත් වෙලා ඉන්න කොටත් තමන්ගෙ මවගෙ අනුරුවවල් මවල කරදර කරන්න ගුප්ත ලෝකයෙන් විවිධ පිරිස් එව්වා කියනවා. උන්වහන්සේ ඒ කාරණය දැනගෙන ප්‍රකාශ කරලත් තිබුනා. ඒ වගේ මේ බණ අහපු අයත් වික්ෂිප්ත කරන්න මාර පාක්ෂික බලවේග විසින් විවිධ දේවල් කරන්න පුළුවන්. උන්වහන්සේ දැන් ජීවමානව නැති නිසා මොනවා කරන්න බැරිද ? ඒ අයට කෙලින්ම එල්ල කරල කරන්න පුළුවන් දේවල් සීමිතයි. ඒ නිසා උන්වහන්සේ විසින්ම මතු කරපු දෙයක් අරගෙන පින්වත් පිරිස් අවුල් කරන්න පුළුවන්. එතකොට ඉදිරියෙදි මේ මාර්ගයට එන්න ඉන්න පිරිස අතරමං වෙන්න පුළුවන්. මොකද තවමත් මේ ධර්මය අවබෝධ වෙච්ච පිරිසට වඩා අනවබෝධයෙන්



ප්‍රතික්ෂේප කරන පිරිස වැඩියි. ඉතිං ඒ වගේ අයට ගහන්න ගල් අතට දෙනව වගේ වැඩක්.

හැබැයි පොදුවේ හැමෝටම උන්වහන්සේගෙ ආශිර්වාදයක් තියෙන්න පුළුවන්. නමුත් මාර පාක්ෂිකයො ඒක අවියක් කරගෙන වහරක හාමුදුරුවො බණ කියනව කියල විකෘති කතා කියන්න පුළුවන්. ඒකෙන් ලොකු පිරිසකට ඇමක් දෙන්න පුළුවන්. උන්වහන්සේ හිටිය නම් මේක ඔහොම තමයි කියන්නෙ කියල තව පිරිසක් තව කතාවක් කියන්න පුළුවන්. ඊට පස්සෙ ඉතිං මහ අවුල් ජාලයක්. **උන්වහන්සේ ඉන්න කල් බණ දේශනා කළේ සෝවාන්, සකෘදගාමී, අනාගාමී, අරිහත් වෙන්න. ඒ වගේ වැඩ පිළිවෙලකට ආශිර්වාදයක් ජීවත් වෙලා ඉඳෙද්දිත් කළා.** ඉතිං මහ රහතන් වහන්සේ නමක් වුනාම නිකං දේවල් කියන්නෙ නෑ. ඒ නිසා උන්වහන්සේගෙ අධිෂ්ඨානයක් තියෙන්න පුළුවන්, සියළු ලෝක සත්ත්වයින් වෙනුවෙන් සර්ව සාධාරණව, මේ ආශිර්වාදයෙන් සුවපත් වෙත්වා, නිවන් මග පූර්ණ කෙරෙත්වා කියල. ඒක වෙනම කතාවක්.

මහ රහතන් වහන්සේ නමක් යම් කිසි ප්‍රකාශයක් කළා නම්, ඒ ප්‍රකාශය මම දැක්ක නම්, මම ඒක හඟවන්නෙ නැතිව ගැහුවත් බැන්නත් හෙළි කරන්න ඕන. ඒ නිසා මේකත් එක්ක කවුරුහරි ගැටෙන්න යනව කියන්නෙ මාර්ගයේ යන අය වළක්වන එක. ඒ නිසා දැන් ඒව ගැන හොයන එක නවත්වල තමන්ගෙ වැඩේ කරගෙන යන්නයි තියෙන්නෙ. උන්වහන්සේ අනුසාසනා කළෙත් ඒ සඳහාමයි.

බුදුන් වහන්සේ ඇතුළු අසූ මහා ශ්‍රාවකයින් වහන්සේලා මේ බුද්ධ සාසනයට අවශ්‍ය ආශිර්වාදය විශ්වයට ගැබ් කරල තමයි පිරිනිවන් පෑවෙ. එතනදි සම්මා සම්බුදුවරයන් වහන්සේ නමකගෙ ශක්තිය උපරිමයි. ඊළඟට තමයි මහ රහතන් වහන්සේලාගේ, රහතන් වහන්සේලාගේ ශක්තිය. ඒ ශක්තිය තමයි අනන්තරය විදිහට සමනන්තරය හැදුනම ඇදිල එන්නෙ. ඒ සමනන්තරය අපි හදාගන්න ඕන. අපි මාර්ගය වඩාගෙන යනකොට ඒ ශක්තිය ලැබෙනවා. ඕනම මහ රහතන් වහන්සේ නමක් ඒ ශක්තිය ගැබ් කරල තමයි පිරිනිවන් පාන්නෙ. මොකද රහතන් වහන්සේ නමක් ලෝකයටම මෛත්‍රිය පතුරුවනවා. ඒ සියළු ශක්තීන් මාර්ගයේ යනකොට ඒ පිරිස කරා හේතු ගැලපිලා තියෙන විදිහට ඇදිල එනවා. එතකොට උන්වහන්සේව ඇස් දෙකින්ම දකින්න අවශ්‍ය නෑ.

ඊළඟට උන්වහන්සේ පිරිනිවන් පෑවම චිතකය හදන්න ඕන විදිහත් මම දැක්කා. පුළුවන් තරම් සුදු හඳුන් දර යොදා ගන්න කියල තමයි සමාධියට නැගුණෙ. දේහය සුදු හඳුන් තෙල් ඔබ්බවපු සුදු රෙද්දකින් ඔතල ඊට පිටින් කහ සිවුරෙන් ඔතන්න ඕන. මෙන්න මේ සිද්ධියෙන් පස්සෙ තමයි මම අර උන්වහන්සේගෙ ප්‍රකාශය දැක්කෙ.

ඉතිං මේ කාරණයට මගේ නමක් ගමක් සඳහන් කරන්න එපා. මොකද මේකත් එක්ක කවුරුහරි ගැටෙනවයි කියන්නෙ ඒ පුද්ගලය මහ පාප කර්මයක් රැස් කරගන්නවා කියන එක. ඒක ලේසි එකක් නෙවෙයි. මම ප්‍රකාශ කරන්නෙ වහරක හාමුදුරුවො රහත් ඵලය ගැන කරපු ප්‍රකාශය. එතකොට ඒකත් එක්ක කවුරු හරි ගැටුනොත් ඒ පුද්ගලයට මග වැහෙන්න පුළුවන්. නමුත් අපි දැන් මේ කරන්න යන්නෙ ඒක නෙවෙයිනෙ. උන්වහන්සේ මේ දහම දේශනා කළේ එක් කෙනෙක් හරි සෝවාන් ඵලයට පත් වෙයි කියල. එතකොට උන්වහන්සේගෙ රහත් ඵලයත් එක්ක කවුරු හරි ගැටුනොත් ඒක ලොකු විනාසයක් වෙනවා. ඒ නිසා බාහිර සමාජය ගැන දයානුකම්පාවෙන්මයි මම මේ කාරණය කියන්නෙ."

................................

රහතන් වහන්සේ නමක් පිරිනිවන් පානකොට යම් කිසි අධිෂ්ඨානයකින් යම් කිසි දහම් ප්‍රකාශයක් කළා නම්, ඒක මෙපමණයි, මේ විදිහමයි කියල අපිට සීමා කරන්න බෑ. ඒ නිසා ඒ වගේ අධිෂ්ඨානයකින් කරපු ප්‍රකාශයක්, හේතු ගැලපිලා තියෙන විදිහට විවිධ මට්ටම්වල අයට විවිධාකාරයෙන් ගෝචර වෙන්න පුළුවන්. හරියට, මහ ගංගාවක තොටුපොළවල් කිහිපයකින් ජලය ටිකක් අරගෙන මේ තොටුපොළේ ජලය මේ

ආකාරයි කියල කියනව වගේ. එකම ජලයේ තියෙන සියුම් වෙනස්කම් විවිධ අය විවිධාකාරයෙන් දකල කියන්න පුළුවන්. ඒ වගේ උන්වහන්සේ කරපු මේ ප්‍රකාශයත් සමාධි වඩපු අයට ඒ ඒ අයගෙ සමාධි මට්ටම් අනුව විවිධාකාරයෙන් ගෝචර වෙන්න පුළුවන්. කෙනෙක් අති සියුම් විදිහට දකින කොට තව කෙනෙක් සාමාන්‍ය විදිහට දකින්න පුළුවන්. හරි විදිහට දැක්ක නම්, ඒවා අතර පරස්පරතාවයක් නෑ. එකම අදහස විවිධාකාරයෙන් අඩු වැඩි වශයෙන් ගෝචර වෙන්න පුළුවන්. නමුත් මාර පාක්ෂික බලපෑම් සහ වෙනත් හේතු මත කෙනෙකුට ඒ කාරණය විකෘති කරගෙන පරස්පර විදිහට කියන්නත් පුළුවන්. ඉතින් මේ සිද්ධිය සමාධියෙන් දැකපු තවත් භාවනානුයෝගී උත්තමාවියකගේ අත්දැකීම් තමයි මේ.

"මට දැනුනා උන්වහන්සේ එදා අපවත් වෙනව කියල. ඒ වෙලාවෙ මම සමාධිගත වෙලා ඒ සිද්ධිය දිහා බලාගෙන හිටියෙ. උන්වහන්සේ මස් ලේ කයින් අහක් වෙලා සියුම් කයෙන් ඉඳගෙන ධර්මාසනයක් මවාගෙන වටාපතත් එක්ක මහ තෙරුන් වහන්සේ නමක් විදිහට වැඩ හිටියා. එතකොට මස් ලේ කය අඩපණයි. හැබැයි ශරීරයට සවි කරල තිබ්බ්ච යන්ත්‍ර වැඩ කරනවා. ඒ අවස්ථාවෙ උන්වහන්සේ වටාපතින් පවන් සලල යම් කිසි දහම් ප්‍රකාශයක් කළා. මම මේ නැවත මතු කරල දුන්න දහම අහසට පොළොව වගේ, මෙන්න මේ දහම පුළුවන් තරම් වේගයෙන් ලෝකයට පතුරවන්න, මම පිරිනිවන් පානවා කියන අදහස තමයි උන්වහන්සේ දුන්නෙ. ඒ වෙච්ච සිදුවීම තාමත් සමාධියට සම වැදිල දැක බලාගන්න පුළුවන්. ඡායාරූප ගන්න බැරිකම මිසක්, එහෙම පුළුවන් නම් ඒ දර්ශනය ඒ තරම්ම පැහැදිලියි. පසුගිය දවසක මේ සඟරාවක් මගේ අතට ලැබුනා. ඒකෙ උන්වහන්සේ පරිහරණය කරපු ධර්මාසනයෙයි, වටාපතෙයි පින්තූරත් තිබුනා. අන්න ඒ ආසනයමයි, ඒ වටාපතමයි එදා මම දැක්කෙ. සඟරාවෙ තිබ්බ්ච ඒ පින්තූරය දැක්කමයි මට මතක් වුනේ, මේ අර එදා දැක්ක ආසනයයි වටාපතයි නේද කියල. ඒකත් ඒ විදිහමයි. මොකද ඊට කලින් මම ඒ ආසනය හෝ වටාපත දැකල තිබුනෙත් නෑ. වහරක ගිහින් තිබුනෙත් නෑ. නමුත් ඒ බණ වෙනත් දේශකයන්ගෙ මාර්ග යෙන් අහල තිබුනා.

ඉතිං උන්වහන්සේ ඒ ප්‍රකාශය කරල ඉවර වෙනවත් එක්කම ඒ යන්ත්‍රයත් නැවතුනා. ඒත් එක්කම හරියට වළාකුලක් බොඳ වෙලා යනව වගේ ක්‍රමයෙන් උන්වහන්සේ නොපෙනී ගියා. තවත් උදාහරණයකින් කියනව නම් පත්තු වෙන පහනක තෙල් ඉවර වෙලා පහන් දැල්ල නිවිල ගියා වගේ. උන්වහන්සේ ගිය තැනක් නෑ. උන්වහන්සේ මේ කය අතහරිනව කියල කිව්වා. ඒකට මහ ලොකු වෙලාවක් ගියේ නෑ. ඒ සිද්ධිය දිහා බලාගෙන ඉන්නකොට මස් ලේ කයට සවි කරල තිබුන යන්ත්‍රයත් නැවතිලා ඉවරයි. එතකොට පිරිනිවන් පෑමයි, සියුම් කය ක්‍රමයෙන් වළාකුලක් වගේ බොඳ වෙලා යෑමයි, යන්ත්‍රයේ වේගය අඩු වෙලා නැවතීමයි කියන මේ කාරණා 3 එකටමයි සිද්ධ වුනේ.

උන්වහන්සේ තමන්ගෙ වැඩේ ඉවරයි කියල මීට කලිනුත් කියල තිබුනෙ ප්‍රත්‍යවේක්ෂා ඥානවලින් ඒ කාරණය දැකපු නිසා වෙන්න ඇති. ඉතිං උන්වහන්සේ කරපු ඒ ප්‍රකාශය සමග එදා වෙච්ච සිදුවීම් දැකල තමයි මම මෙහෙම කියන්නෙ. උන්වහන්සේ ඒ සියල්ලම අධිෂ්ඨාන කරල තියෙනවා. ඉතිං මේ රහත් වෙලා පිරිනිවන් පෑව කියන කතාව උන්වහන්සේ කිව්ව නිසයි මම දන්නෙ. ඒ කාරණයත් එක්කම ඊට පස්සෙ සිද්ධ වෙච්ච දේවල් හොඳින් ගැලපුනා. කිසිම තැනක උන්වහන්සේ පුද්ගලයෙක් වශයෙන් ඉන්නව කියල දැන් අරමුණු වෙන්නෙ නෑ.

ඒ පිරිනිවන් පෑමෙන් පසු ශ්‍රී දේහයට කරන්න ඕන දේත් මම සමාධියෙන් දැක්කා. සුදු හඳුන් දරවලින් තමයි දවන්න තිබුනෙ. ඉස්සෙල්ලම සුදු හඳුන් තෙල්වලින් පොඟවපු සුදු රෙද්දකින් දේහය ඔතල ඊට පස්සෙ කහ සිවුරෙන් ඔතල සඳුන් සුවඳ ගල්වල සඳුන් තෙල්වලින්ම පොඟවපු විලක්කුවලින් ගිනි දල්වන්න ඕන කියල තමයි මම දැක්කෙ. හැබැයි ඉතිං එදා මේ සිද්ධිය මම දැක්කත්, උන්වහන්සේ ළඟින් හිටපු පිරිස් මම දන්නෙ හඳුනන්නෙ නැති නිසා මට ඒ ගැන කවුරුවත් දැනුවත් කරන්න අවස්ථාවක් ලැබුනෙ නෑ. ඒ පිරිස් උන්වහන්සේට ලොකු භක්තියකින් ගෞරවයකින් හිටපු නිසා මම ඒ ගැන කියන්න ගියෙත් නෑ. ඒත් එදා මම ඒ පිරිස හරියට දැන හඳුනගෙන හිටිය නම් මේ සිද්ධිය ඔක්කොම විස්තර කරල කියන්න තිබුනා.

හැබැයි උන්වහන්සේගෙ ආදාහනය දවසෙ ඒකට සහභාගි වෙච්ච ඒ පින්වත් පිරිස් වටිනා දෙයක් කළා. ඒ තමයි අපේ සමහර හාමුදුරුවරු පවත්වපු කතාවලදි, උන්වහන්සේට මතු නිවන් සැප ලැබේවා කියල ප්‍රාර්ථනා කරල සාදුකාරයක් දෙන්න කිව්වම කිසිම කෙනෙක් සාදුකාරයක් දුන්නෙ නෑ. එක්කෙනෙක්වත් කට හෙල්ලුවෙ නෑ. ඒ කතාව අහල සමහරුන්ට නොරිස්සුම් ගතියකුත් ආවා. මොකද උන්වහන්සේ නිවන් පූර්ණ කරගෙන පිරිනිවන් පෑව කියන කාරණය ඒ අතිමහත් බහුතරයක් පින්වත් පිරිස අනුමානයෙන් හරි විස්වාස කළා. ඉතිං පිරිනිවන් පෑවට පස්සෙ නැවතත් නිවන් දකින්න කියල ප්‍රාර්ථනා කරන්න දෙයක් නෑ. නිවන් නොදැක්ක නම් තමයි එහෙම කරන්න ඕන. ඉතිං ඒ හාමුදුරුවරු උන්වහන්සේ ගැන හරියට දැනගෙන ඉඳල නෑ. ඒ නිසා පින්වත් පිරිස එහෙම නිහඬව ඉදීමත් උන්වහන්සේට කරපු ලොකු ගෞරවයක් වුනා.

ඉතිං බුදු, පසේ බුදු, මහ රහත් උත්තමයන් වහන්සේලා වගේ උන්වහන්සේත් මහා ශක්තියක් විශ්වයට නිකුත් කරල තමයි පිරිනිවන් පෑවෙ. ඒ ශක්තිය දැන් ඉන්න කාටවත් දෙවෙනි කරන්න බෑ. මෙච්චර කාලයක් මේ ලෝකෝත්තර ගමන් මාර්ගය වැහිල ගිහින් තිබුනෙ. උන්වහන්සේ ඒ වැහුම් ඇරියා. සත්‍යය පෙන්වා දුන්නා. මේ දහම ලෝකයාට දේශනා කරන්න, පැතිරිලා යයි කියල තමයි උන්වහන්සේ අන්තිම මොහොතෙ කිව්වෙ. ඒ සඳහා දෙන්න පුළුවන් උපරිම සහයෝගය දෙන්න කිව්වා. දැන් ඒ කිව්ව විදිහටම කලින්ටත් වඩා වේගයෙන් මේ දහම පැතිරිලා යනවා. දැන් මේ දහම දේශනා කරන්න හැකියාව තියෙන අය ලංකාවෙ විතරක් නෙවෙයි, විදෙස් රටවලත් ඉන්නවා. ඒ අය හැමතැනම ඒ දහම දේශනා කරනවා. ඒ දේශනාවලට තියෙන ඉල්ලුමත් ඒ වගේ. මෙතෙක් කලක් සැඟවිලා තිබ්බ්ච දහම දැන් හුඟ දෙනෙක් හොයනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්...)

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ඔබට තවමත් කේන්ති යනවද?

**11 වන කොටස**



**ශ්‍රාවක :** අපි කතා කරපු දහම් කරුණුවලින් විසාල පිරිසකට යහපතක් වෙලා තියෙන බව, මේ ලිපි කියවපු බොහෝ දෙනෙක් කතා කරල ඉදිරිපත් කරපු අදහස්වලින් පැහැදිලි වුනා. ඒ අයට තිබුන ප්‍රශ්න රාශියක්ම විසඳගෙනත් තියෙනවා. ඒ වගේ මටත් වදයක් වෙලා තියෙන ප්‍රශ්නයක් අද විසඳගන්න තියෙනවා. ඒ තමයි මට නිතරම කේන්ති යන එක. පොඩි එහා මෙහාවක් වෙච්ච ගමන් කේන්ති අරගෙන කාටහරි බනින එක තමයි නිතරම සිද්ධ කරන්නෙ. අපරාදෙ අනිත් අයටත් නිතරම බැනුම් අහන්න වෙනවා. මේක නවත්වගන්න ධර්මයේ ක්‍රමවේදයක් නැත්ද ?

**දේශක :** ඔබට විතරක් නෙවෙයි, ඔය ප්‍රශ්නය අද සමාජයේ බොහෝ දෙනෙකුට තියෙනවා. අනිත් අය කරන වැඩ නිසා තමන්ට කේන්ති ගන්න වෙනවා කියන එක තමයි හිතාගෙන ඉන්නෙ. ඒ නිසා හැමතිස්සෙම කේන්ති යන හේතුව වෙනත් කෙනෙක් මත පටවන එක තමයි සිද්ධ වෙන්නෙ.

**ශ්‍රාවක :** ඔය වගේ තත්ත්වයක් නම් මීට අවුරුදු 15 - 20 කට කලින් තිබුනෙ නෑ කියල තමයි අපේ වැඩිහිටියො නිතරම කියන්නෙ.

**දේශක :** ඒකට ඉතිං විවිධ හේතු තියෙන්න පුළුවන්. හැබැයි මට නිසැකවම කියන්න පුළුවන් එක හේතුවක් තියෙනවා. ඒ තමයි ඒ අයට බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන ශ්‍රී සද්ධර්මය නිවැරදිව අහගන්න අවස්ථාවක් නොලැබීම.

**ශ්‍රාවක :** ලංකාවෙ පැය 24 පුරාම ඕන තරම් බණ අහන්න පුළුවන් විවිධ ක්‍රමවේද පවා සකස් වෙලා තියෙන අවස්ථාවක, බුදු හාමුදුරුවො දේශනා කරල තියෙන ශ්‍රී සද්ධර්මය නිවැරදිව අහගන්න ලැබෙන්නෙ නෑ කියල කියන්නෙ කොහොමද ?

**දේශක :** ඔබ අහල තියෙනව නේද, ශ්‍රී සද්ධර්මය පරම දුර්ලභයි කියල කතාවක් ?

**ශ්‍රාවක :** ඔව්. මම ඒක අහල තියෙනවා. ඒ කියන්නෙ ඒ වගේ දහමක් ශ්‍රවණය කරන්න තියෙන අවස්ථාවත් හරිම අඩුයි කියන එක නේද ?

**දේශක :** ඔව්, එහෙම පරම දුර්ලභ දහමක් පැය 24 පුරාම අහගන්න ලැබෙන අවස්ථා තියෙන්න පුළුවන්ද ? ඒ කොහොම වුනත් අද ඔබ අහපු ප්‍රශ්නයට උත්තරය ධර්මයෙන් පෙන්වල දුන්නට පස්සෙ ඔබටම වැටහෙයි, කේන්ති ගන්න එක කොච්චර මෝඩකමක්ද කියල. ඉවසන්න පුරුදු වෙන්න කියනව ඇරෙන්න, වෙනත් ක්‍රමවේදයක් නම් මීට කලින් අහලත් නැතුව ඇති.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ ශ්‍රී සද්ධර්මය නිවැරදිව අහගෙන තියෙනව නම්, ඔය වගේ කේන්තිකාරයෙක් වෙන්නෙ නෑ කියන එක නේද ?

**දේශක :** ඔව්. ඔබ නිවැරදිව ශ්‍රී සද්ධර්මය දැනගෙන ඒක අනුගමනය කරනව නම් නිවී සැනසිල්ලෙ ඉන්න පුළුවන් වෙනවා. අනුගමනය කරන හැමෝටම ජාති, ආගම්, කුල භේදයකින් තොරව නිවී සැනසිල්ලෙ ඉන්න පුළුවන් දහමක් තමයි බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ.

**ශ්‍රාවක :** එහෙනම් මේ ලෝකෙ ජීවත් වෙන සියළුම මිනිස්සුන්ට යහපතක් වෙන්න කියල හිතල, කේන්ති ගන්නෙ නැතුව ඉන්න පුළුවන් ක්‍රමවේදය අද කියල දෙන්න.

**දේශක :** ඒක හැමෝටම තේරෙන්න පැහැදිලි කරල දෙන්නම්. ඒ සඳහා බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන සූත්‍ර කිහිපයකින්ම කරුණු ගන්න වෙනවා. ඒවා හොඳින් වටහගන්න ඔබ උත්සාහ වීර්ය කරන්නත් ඕන.

**ශ්‍රාවක :** බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන සූත්‍ර දේශනාවකින්, අදාළ කරුණු කාරණා තේරුම් ගන්න නිවැරදි ක්‍රමවේදය පිළිබඳව දැන් මට අත්දැකීම් තියෙනවා. කේන්ති ගන්න එක නවත්ව ගන්න උත්සාහ කරන අයට විශේෂයෙන් දේශනා කරල තියෙන සූත්‍ර මොනවද ?

**දේශක :** සංයුක්ත නිකායේ පළමු වන කාණ්ඩයේ 293 වන පිටුවේ තියෙන අසුරින්දක සූත්‍රය දේශනා කරල තියෙන්නෙ ඔය වගේ කේන්ති අරගෙන බනින කෙනෙකුට තමයි. නමුත් අපි තවත් දැනගත යුතු වැදගත් කරුණු රාශියක් තියෙනවා. ඒවත් අපි අදාළ සූත්‍ර දේශනාවලට අනුව විග්‍රහ කරගෙන විස්තර සහිතව කතා කරමු.

**ශ්‍රාවක :** බැනුම් අහන්න වෙන්නෙ කර්ම විපාකයක් එල දීලනේ ! ඒ නිසා කර්ම විපාක එල දෙන ආකාරය ගැනත් දැනගන්න එක වටිනවා.

**දේශක :** ඔව්. අංගුත්තර නිකායේ 4 වන කාණ්ඩයේ 201 වන පිටුවේ අපි හැමෝටම වැදගත් වෙන සූත්‍රයක් තියෙනවා. ඒකෙ නම තමයි <u>නිබ්බේධික සූත්‍රය.</u> ඒකෙන් පෙන්වල දෙන්නෙ කර්මයේ වේමත්තතා පිළිබඳව. ඒ කියන්නෙ අපි කරල තියෙන කර්ම අනුව ඒවා එල විපාක දෙන්නෙ, ඒ අදාළ කර්මය එල දෙන්න පුළුවන් ලෝකයක උප්පත්තිය ලබල තියෙන වෙලාවකදි කියන එක.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ මනුස්ස ලෝකෙදි එල දෙන කර්ම තියෙනවා, අපායෙදි එල දෙන කර්ම තියෙනවා, දිව්‍ය ලෝකෙදි එල දෙන කර්ම තියෙනවා. ඒ වගේම අපි මනුස්ස ලෝකෙදි කරපු කර්ම සියල්ලටම විපාක මනුස්ස ලෝකෙදිම ලැබෙන්නෙ නෑ කියන එක නේද ?

**දේශක :** හරියටම හරි. ඒ ඒ කර්ම එල දෙන්නෙ ඒ ඒ කර්මයට අදාළ අත්බවයක උප්පත්තිය ලැබුවට පස්සෙ. සමහර ඒවා තියෙනවා දිට්ඨධම්මවේදනීය කියල. ඒ කියන්නෙ ඒ වගේ කර්ම කරපු අත්බවයෙදිම විපාක දෙනවා. නමුත් තිරිසන් අත්බවයේ ඉපදිලා එල දිය යුතු කර්මයක් සුගති අත්බැවක ඉන්න කෙනෙක් කළොත් ඒක දැන් එල දෙන්නෙ නෑ. හැබැයි ඉදිරි කාලයෙදි තිරිසන් භවයක උප්පත්තිය ලැබුවට පස්සෙ ඒ කර්මය එල දෙන්න පුළුවන්.

**ශ්‍රාවක :** ඔය කියන්නෙ, මහා භයානක විදිහට අපරාද කරන අය සහ නොයෙක් ආකාරයෙන් වංචා දූෂණ කරන උදවියට වුනත් ඒ කර්මවල විපාක මේ භවයෙදිම ලැබෙන්නෙ නැතිවෙන්න ඉඩ තියෙනවා කියන එක නේද ?

**දේශක :** ඔව්, එහෙම වෙන්න ඉඩ තියෙනවා. මොකද කරල තියෙන අපරාදයේ බරපතලකම අනුව, චේතනාව අනුව, ඒක අපායෙ විපාක දිය යුතු කර්මයක් නම් ඒ පුද්ගලයට මිනිස් භවයෙදි දරුණු විපාක නොලැබෙන්න පුළුවන්. නමුත් අපායට ගිය වෙලාවක ඒ ඔක්කොටම විපාක ලැබෙන්න පුළුවන්.

**ශ්‍රාවක :** මේ විදිහට කර්මයේ වේමත්තතා ගැන නොදන්න අය තමයි, ඔය නොයෙක් නොයෙක් දරුණු අපරාද කරමින් සමාජයේ ඉතා හොඳ සැප සම්පත් ලබාගෙන ජීවත් වෙන අය දිහා බලල, මෙච්චර අපරාද කරන අයටත් මුකුත්ම වෙන්නෙ නෑ, අහිංසක අපිට තමයි හැමදේම වෙන්නෙ කියල කියන්නෙ.

**දේශක :** ඔව්. ඒ වගේ දැන් අපරාද කර කර ඉන්න අයට සැප සම්පත් ලැබෙනව නම්, ඒවා ඒ අය පෙර කරන ලද දන් දීම්... ආදී පුණ්‍ය කර්මවල විපාක. හැබැයි ඒ අය දැන් කරන අපරාධවලට විපාක ඉදිරියේදි ඊට නියමිත තැන්වල උප්පත්තියට ගියාම ලබන්න සිද්ධ වෙනවා.

**ශ්‍රාවක :** එහෙනම් දැන් ඒ වගේ අපරාද කර කර බොහොම යහතින් වැජඹෙන අය ගැන අපි කලබල වෙන්න අවශ්‍යතාවයක් නෑ. කර්ම නියමයට අනුව ඊට සුදුසු දඬුවම් සුදුසු අවස්ථාවෙදි ඊට සුදුසු තැනක උප්පත්තිය ලැබුවට පස්සෙ ලැබේවි.

**දේශක :** හරියටම හරි. ඔබ දැන් තේරුම් ගත්තා, මේ සමාජයේ නොයෙකුත් අපරාද කරමින් ඉන්න අයට මොකුත් ප්‍රශ්නයක් වෙන්නෙ නෑ, අපිට තමයි මේ සේරම ප්‍රශ්න කියල ඒ අයත් එක්ක ද්වේශයක් හදාගෙන හිටියොත්, තමන්ටම තමයි ඒ ද්වේශය නිසා අපායට යන්න වෙන්නෙ කියන කාරණය.

**ශ්‍රාවක :** මේ කර්මයේ වේමත්තතා දැනගත්තට පස්සෙ, අනුන්ට කර්ම එල දෙන්නෙ නැති එකට පැත්තක ඉඳන් කේන්ති අරගෙන තමන්ම අපායට යන්න පාර හදාගන්නෙ නැතිව, තම තමන් නිවැරදිව කටයුතු කරල තමන්ගෙම විමුක්තිය උදා කරගන්න එක තමයි කරන්න තියෙන හොඳම දේ. කවුරුහරි මේ භවය තුලදි කරන අපරාදවලට මනුස්ස ලෝකෙදිම දඬුවම් නොලැබෙන්නෙ, ඊට නියමිත අවස්ථාව ආවම දඬුවම් ලැබෙන නිසා බව පෙන්වා දෙන බුද්ධ දේශනාව අනුව සිහියෙන් කටයුතු කරල, ඒ අය නොදන්නකමට තමන්ටම කරගන්න මේ විනාසය ගැන හිතල සංවේගයක් උපදවා ගන්න එක තමයි දහම දැනගත්ත අය කළ යුත්තෙ.

**දේශක :** ඔව්, ඔබ හරි. ඒත් ඉතිං ලෝක සම්මත සමාජයේ යහ පැවැත්මට හදල තියෙන නීති ක්‍රියාත්මක කරල, මනුස්සයින් විසින්ම දඬුවම් දෙන අවස්ථා ලෝකයේ හැම රටකම තියෙනවා.

**ශ්‍රාවක :** එතකොට ඒ නීති ක්‍රියාත්මක කරන නිලධාරීන්ට පවක් සිද්ධ වෙන්නෙ නැත්ද ?

**දේශක :** පවක් සිද්ධ වෙන්නෙ නැතිව මේ ලෝකෙ ඉන්න පුළුවන් වෙන්නෙ බුදු, පසේ බුදු, රහත් උත්තමයන් වහන්සේලාට විතරයි. ඊට මෙහා ඉන්න මගඵල ලාභීන් ඇතුළු අනික් හැමෝම, ඔය කොහොම කිව්වත් එක එක මට්ටමට පව් සිද්ධ කරනවා. ඒක තමයි මේ සසරෙ තියෙන භයානකත්වය. ඒ සමහර ඒවායින් අපායට නොගියත් ලද තැනක විපාක දෙන්න පුළුවන්. නීතිය ක්‍රියාත්මක කරන නිලධාරීන් එතනදි, කල්ල සුක්ඛං කල්ල සුක්ඛ විපාකං කියල පිං පව් දෙකම රැස් කර ගන්නවා. මොකද සමාජයේ යහ පැවැත්මට කටයුතු කිරීම පිනක්. ඒ වගේම ඒ උදෙසා අනුන්ට දඬුවම් ලබා දීමෙන් පවකුත් සිද්ධ කර ගන්නවා. යම ලෝකෙ ඉන්න යමපල්ලන් කරන්නෙත් ඒ වගේ රාජකාරියක්. අනවශ්‍ය විදිහට ද්වේශයකින් කටයුතු නොකර සමාජයේ යහපතම අරමුණු කරගෙන නීතිය ක්‍රියාත්මක කරනව නම්, එතනදි සිද්ධ වෙන පව් සමහරවිට අවම වෙන්න හෝ විපාක නොදෙන්න හෝ පුළුවන්.

**ශ්‍රාවක :** එතකොට විපාක දෙන්නෙ නැති පවුත් තියෙනවද?

**දේශක :** ඔව්. බුදු රජාණන් වහන්සේ එහෙම දේශනා කරල තියෙනවා. එකම පාප ක්‍රියාවක් වුනත් එක් කෙනෙකුට අනුමාත්‍ර වශයෙන්වත් විපාක නොදෙන්නත්, තවත් කෙනෙකුට සුළු වශයෙන් විපාක දෙන්නත්, තවත් කෙනෙකුට අනිවාර්යෙන්ම බරපතල විපාක දෙන්නත් පුළුවන්. ඒ බව පැහැදිලිව පෙන්වල දීල තියෙන්නෙ අංගුත්තර නිකායේ පළමු වෙනි කාණ්ඩයේ තික නිපාතයේ 445 වෙනි පිටුවේ එන දේශනාවකින්.

**ශ්‍රාවක :** එකම පාප ක්‍රියාවක් එක් කෙනෙකුට විපාක දෙන්නත්, තවත් කෙනෙකුට විපාක නොදෙන්නත් හේතුව මොකක්ද ?

**දේශක :** එතනදි චේතනාව අනුව තමයි විපාක වෙනස් වෙන්නෙ. බුදු රජාණන් වහන්සේ ඒ බව උපමාවකින් පෙන්වන්නෙ මෙහෙමයි. වතුර පොල් කට්ටකට ලුණු කැටයක් දැම්මත් පොල් කට්ටෙ වතුර ලුණු රස

වෙනවා. නමුත් ගඟකට ලුණු කැටයක් දැම්මට ගඟේ වතුර ලුණු රස වෙන්නෙ නෑ. අන්න ඒ වගේ ප්‍රඥා භාවනා, සීල භාවනා, කාය භාවනා, චිත්ත භාවනා නැති සමහර පුද්ගලයන් කරන පව් බරපතල විදිහට විපාක දෙනවා. නමුත් අර විදිහෙ බණ භාවනා වඩන අයට ඒ විදිහෙ විපාක දෙන්නෙ නෑ. ඒකෙ තියෙන බලවත් බව අඩු වෙනවා.

බවත්, කර්මය දායාදය බවත්, කර්මය යෝනි බවත්, කර්මය බන්දු බවත් කියවෙනවා. ඒ වගේම කවුරුහරි දූන් කරන හොඳ හෝ නරක කර්මවලටත් ඒ ආකාරයෙන්ම හොඳ හෝ නරක විපාක ලැබෙන බවත් සඳහන් වෙනවා. ඒ නිසා ඒ ගැන නිතරම සිහියෙන් දැනගෙන ඉන්න කියල අවවාදයකුත් දීල තියෙනවා.

**දේශක :** ඒක තමයි කර්ම විෂය අචින්ත්‍යයි කියල දේශනා කරල තියෙන්නෙ. ඒක ඔබට හිතල ගන්න පුළුවන් එකක් නෙවෙයි. මීට පෙර භවවලදි ඔබ අම්මට තාත්තට සළකල නැත්නම්, මේ භවයෙදි ඔබ මව්පියන්ට සැළකුවත් අර කර්ම විපාක දීල ඔබට සැළකුම් නොලැබෙන්න පුළුවන්.



එහෙම නැත්නම් සමහර විට විපාක නොදී තියෙන්නත් පුළුවන්. හරියට ගඟට ලුණු කැටයක් දැම්ම වගේ.

**ශ්‍රාවක :** ඔය කියන ප්‍රඥා භාවනා, සීල භාවනා, කාය භාවනා, චිත්ත භාවනා... ආදිය කරන්නෙ කොයි වගේ අයද?

**දේශක :** මේ මූලික දහම් අවබෝධය ලබාගෙන ලෝකයේ අසාරත්වය වටහා ගත්ත අය තමයි, ලෝකය සමග කටයුතු කරනකොට තමන්ට හැකි පමණින් දැඩිව ඇලෙන්නෙ ගැටෙන්නෙ නැතිව ඉන්න උත්සාහ කරන්නෙ. ඒ උත්සාහ කරන අවස්ථාවෙ තමයි අර මුලින් කියපු භාවනා වැඩෙන්නෙ.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ මේ ධර්මාවබෝධය නිවැරදිව ලබා ගත්ත කෙනෙකුට තමයි ඒ ක්‍රමවේදය අනුව බේරෙන්න පුළුවන් වෙන්නෙ.

**දේශක :** ඔබ හිතන විදිහ හරි. දැන් තේරෙනව නේද, මේ ධර්මාවබෝධයේ තියෙන වටිනාකම ? ඔබට කේන්ති යන එක නවත්තගන්න නම් අනිවාර්යෙන්ම දැනගත යුතු තවත් සූත්‍රයක් තියෙනවා. ඒකට කියන්නෙ <u>දස ධම්ම සූත්‍රය</u> කියල. (අංගුත්තර නිකාය 6 වෙනි කාණ්ඩය - 156 පිටුව)

ඒකෙදි කියවෙන්නෙ කර්මයේ ස්වභාවය ගැන. එතනදි කර්මය ස්වකීය

**ශ්‍රාවක :** කර්මය ගැන ලොකු විස්තරයක් තියෙනවනෙ. අපි එකින් එක පැහැදිලිව තේරුම් ගන්න බැලුවොත් හොඳයි. එතනදි කර්මය ස්වකීයයි කියල කිව්වෙ ඇයි?

**දේශක :** ඒ කියන්නෙ තමන්ට විපාක විදිහට එන්නෙ තමන් විසින්ම කරපු කර්මමයි කියන එක. ඒ වගේම අනිත් අයගෙ කර්ම තමන්ට ඵල දෙන්නෙ නෑ කියන එකත් මෙතනදිම තේරුම් ගන්න ඕන.

**ශ්‍රාවක :** ඔව්. ඒක දැනගත්ත එක නම් බොහොම වටිනවා. මම සමහර වෙලාවට අනිත් අයට බනින්නෙ ඒ අයගෙ කරුමෙ මට ගෙවන්න වෙනව කියල හිතල. මට සිද්ධ වෙන දේවල් ඉතිං මමම කරපු ඒවා නිසා එනව කියල දැන් තමයි වැටහෙන්නෙ.

**දේශක :** කර්ම දායාදයි කියන්නෙ ඔබ ඒ කර්මය කරපු ආකාරයෙන්ම ඔබටත් විඳින්න වෙනව කියන එකයි. ඔබ අම්මට තාත්තට සළකන්නෙ නැත්නම්, ඔබටත් ඔබේ දරුවන් සළකන්නෙ නැතිවෙන්න පුළුවන්. ඒක තමයි ස්වභාව ධර්මයේ නියමය.

**ශ්‍රාවක :** ඒ වගේ දේවල් නම් අපට අත්දැකීන්නත් තියෙනවා. නමුත් හොඳට සළකපු අයට සැළකුම් නොලැබෙන සමහර අවස්ථා තියෙනවා.

**ශ්‍රාවක :** කර්මයෝනි කියල කියන්නෙ නම් තමන්ට කරපු කර්මයට අනුව උප්පත්තිය ලැබෙනවා කියන එක නේද ?

**දේශක :** ඔව්. ඒ අදහස තමයි එතනදි ගන්න පුළුවන් වෙන්නෙ. ඔබ එදා හදපු මනුස්ස ගතිය නිසා අද ඔබට මනුස්ස ගතිය ලැබිල තිබුනත්, ඔබ ළඟ තවමත් මනුස්ස ගති තියෙනවද, නැත්නම් වෙනත් ගතිත් තියෙනවද කියල හොඳට හොයල බලන්න.

**ශ්‍රාවක :** එතකොට කර්ම බන්දු කියල කියන්නෙ කර්මය මිත්‍රයෙක් කියන එකද ? ඒ වුනාට අපිට එහෙම හිතෙන්නෙ නෑනෙ. අපි හිතන්නෙ කර්මය හරිම කරදරයක් කියලනෙ.

**දේශක :** ඔව්. කවුරුත් ඔය කරුමෙ ගැන මතක් කරන්නෙ තමන්ට කරදරයක් හිරිහැරයක් වෙච්ච වෙලාවක තමයි. තමන්ට හොඳක් වුනාම, ලාභයක් ලැබුනම ඒක කරුමෙ කියල මතක් වෙන්නෙ නෑනෙ. අපි කරුමෙ කියල කියන්න පුරුදු වෙලා තියෙන්නෙ නරක ඒවට විතරයි. ඒ නිසා කවුරුත් කරුමෙත් එක්ක තරහෙන් තමයි ඉන්නෙ. නමුත් හොඳ ඒවත් කරුමය නිසා තමයි වෙන්නෙ. හැබැයි ඔය නරක විපාක දෙන කරුමෙත් යාළු කරගන්න ක්‍රමයක් තියෙනවා. ☞

**ශ්‍රාවක :** ඒ කියන්නෙ නරක කර්ම එල දෙන එකෙන් බේරෙන්න පුළුවන් ක්‍රමයක් තියෙනව කියන එකද ?

**දේශක :** එහෙම හැම කර්මයකින්ම බේරෙන්න පුළුවන් ක්‍රමයක් නෑ. නමුත් ඉතිං තමන්ටම තවත් විපතක් කරගන්නෙ නැතිව යහපතක් කරගන්න පුළුවන් ක්‍රමවේදයක් තියෙනවා. ඒ ක්‍රමයෙන්ම තමයි කේන්ති යන එක නවත්තගන්න පුළුවන් වෙන්නෙත්. ඒ සඳහා තේරුම් ගත යුතු තවත් වැදගත් බුද්ධ දේශනාවක් තියෙනවා,

"කම්මා විපාකා වත්තන්ති
විපාකෝ කම්ම සම්භවෝ
තස්මා පුනබ්බවෝ හෝති
ඒවං ලෝකෝ පවත්තති"

හැම කර්මයකටම විපාකයක් ලැබෙනවා. ඒ විදිහට ලැබෙන විපාකයෙන් නැවතත් කර්මයක් හම්බ කරගන්නවා. ඒ හම්බ කරගත්ත කර්මය පුනර්භවයකට හේතු වෙනවා. මේ ආකාරයට ලෝකය දිගටම පවතිනවා.

**ශ්‍රාවක :** ඒක නම් මට තව ටිකක් පැහැදිලි කරගන්න ඕන. කොහොමද විපාකයෙන් කර්ම හම්බ කරන්නෙ ?

**දේශක :** ඒක හරිම පැහැදිලියි. හිතන්න ඔබට කවුරුහරි ගහනවා කියල. ඒක ඔබ මීට පෙර කරන ලද නරක කර්මයක විපාකයක්.

**ශ්‍රාවක :** මට ගැහුවට පස්සෙ මම නිකං ඉන්නෙ නෑනෙ. මමත් ආපහු ගහනවා. ගහන්න බැරි වුනත් වෙනත් දෙයකින් හරි ඒ පුද්ගලයට පීඩාවක් කරන්න හිතෙනවා.

**දේශක :** ද්වේශයකින් ඔබ ඒකට විරුද්ධව කරන පීඩාව නැවත ඔබටම විපාක දෙන නරක කර්ම රැස් කිරීමක් වෙනවා.

**ශ්‍රාවක :** ඔව්. මම ලෝභයෙන් හරි ද්වේශයෙන් හරි හිතන, කියන, කරන ඒවා මටම නරක විපාක දෙන කර්ම වෙනවා. ඒ නිසා මාව පහත් තත්ත්වයකටත් ඇද වැටෙනවා. සමහරවිට ඒ අවස්ථාවෙ මම සතර අපාගත වෙන්නත් හේතු වෙන තරම් බලවත් කර්මයක් සිද්ධ කරගත්ත වෙන්නත් පුළුවන්.

**දේශක :** අන්න ඒ ආකාරයට තමයි ඔබ විපාකවලින් කර්ම රැස් කරගන්නෙ. ඒ විදිහට කටයුතු කරල ඔබව පහත් තත්ත්වයකට වට්ටගත්ත වගේ තමයි, ධර්මාවබෝධයෙන් ඥානවන්තව කටයුතු කළොත් ඉහළට යන්නත් පුළුවන් වෙන්නෙ.

**ශ්‍රාවක :** කර්ම නියමය ක්‍රියාත්මක වෙන විදිහ හරි පුදුමාකාරයි. අපිට මේවා බුදු රජාණන් වහන්සේ පෙන්වල දීල නොතිබුනා නම් මහා භයානක අසරණ තත්ත්වයකට තමයි පත් වෙන්න සිද්ධ වෙන්නෙ.

**දේශක :** තමන්ව අසරණ තත්ත්වයකට පත් කරගන්නෙ නැතුව, මේ උගුලෙන් බේරෙන්න නම්, බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන ශ්‍රී සද්ධර්මය හොඳින් වටහාගන්න ඕන.

**ශ්‍රාවක :** කර්මය ගැන නොදන්න කරුණු රාශියක්ම මම දැනගත්තා. අපි හැමෝටම අමතක වෙන තැනක් තමයි කර්මය ස්වකීයයි කියන එක. අපි හිතන්නෙම අපිට මේ කරදර වෙන්නෙ අනිත් අයගෙ වැරදි නිසා කියල. ඒකනේ හැමතිස්සෙම මොකක් හරි අඩුපාඩුවක් වුනොත් ඒකෙ වැරැද්ද වෙන කාටහරි පටවන්නෙ.

**දේශක :** එහෙම කාගෙවත් ඇඟට වරද පටවල තමන් කරපු කර්මවලින් බේරෙන්න බෑ. මෙතනදි තමන් තමන්ටම අවංක වෙලා බුදු රජාණන් වහන්සේ කර්මය ගැන දේශනා කරල තියෙන කරුණු අනුව ගැඹුරින් කල්පනා කරල බලන්න ඕන. උදාහරණයක් හැටියට, අපිට කවුරුහරි බනින අවස්ථාවක් අරගෙන බලමු.

**ශ්‍රාවක :** ඔව්. ඒක හොඳයි. ඒ වගේ වෙලාවල්වලට තමයි මටත් හොඳටම කේන්ති යන්නෙ. ඒකෙන් ඉතිං සමහර වෙලාවට මහ විනාසයක් වුනත් සිද්ධ වෙන්න පුළුවන්. මොකද සමහර අයට තමන්ගෙ කේන්තිය පාලනය කරගන්න බැරි නිසා.

**දේශක :** ඔබ සාමාන්‍යයෙන් හිතන විදිහට කවුරුහරි ඔබට බනින්නෙ ඇයි?

**ශ්‍රාවක :** මම දැනුවත්ව හරි නොදැනුවත්ව හරි වැරැද්දක් කරල ඇති. සමහර විට වරදක් වෙලා නැති වුනත්, අනිත් කෙනා හිතනව ඇති මගෙන් වැරැද්දක් වුනා කියල.

**දේශක :** ඔව්. අපි සාමාන්‍යයෙන් හිතන්නෙ එහෙම තමයි. නමුත් බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙනවා කර්මය ස්වකීයයි කියල. ඒ කියන්නෙ තමන් කරපු ඒවම තමයි තමන්ට විපාක හැටියට ලැබෙන්නෙ.

**ශ්‍රාවක :** එහෙම කල්පනා කළොත් නම්, මම මීට පෙර කාටහරි බැනල තියෙන නිසා තමයි මට අද බැනුම් අහන්න වෙන්නෙ.

**දේශක :** හොඳයි ඔබ අර ඉස්සෙල්ල කිව්ව වගේ කිසිම වරදක් කරල නැතිව ඉන්න අවස්ථාවකත් ඔබට කවුරුහරි බනිනව නම්, ඒක කොහොමද සිද්ධ වෙලා තියෙන්නෙ ?

**ශ්‍රාවක :** ඒ කියන්නෙ මමත් මීට පෙර බැනල තියෙන්නෙ කිසිම වරදක් නැති අහිංසක අයට තමයි. ඒ නිසානෙ මමත් අද කිසිම වරදක් නොකර ඉන්න අවස්ථාවකදි වුනත් මට බැනුම් අහන්න වෙන්නෙ. ඒක මම කලින් කරල තියෙන වැරැද්දට දඬුවමක් කියල හිතාගත්ත නම් හරි නේද ?

**දේශක :** හරි. දැන් ඔබට වැටහිලා තියෙනවා. ඒ වගේම ඔබ වටහාගන්න අවශ්‍යයි, ඔබට දඬුවම් දීම සඳහා මේ බනින පුද්ගලයාව කර්ම නියමයෙන්ම පත් කරල එවල තියෙන්නෙ කියල. ඒ වගේම ඒ පුද්ගලයා හරිම අහිංසක කෙනෙක්.

**ශ්‍රාවක :** ඒ කොහොමද මට බනින කෙනා අහිංසකයෙක් වෙන්නෙ ? ඒ තරම්ම අහිංසක නම් මට බනින්නෙ නැතිව ඉන්න තිබුනනෙ.

**දේශක :** ඔබට දැන් කර්මය ස්වකීයයි කියල අමතක වුනා. මෙතන ඔබම කරපු එකක් ඔබටම විපාක දෙනවා. ඒ විපාකය ලබාදෙන්න අර පුද්ගලයව සම්බන්ධ වෙනවා. එහෙම වෙන්නෙත් ඒ පුද්ගලයට ප්‍රඥාව නැති නිසා. පොඩ්ඩක් ගැඹුරින් හිතල බලන්න, ඔබ එදා ඒ වැරැද්ද නොකර තිබුන නම් අද ඔබට බනින්න මේ පුද්ගලය එන්නෙ නෑ.

**ශ්‍රාවක :** හරි. මට දැනුයි තේරුම් ගියේ. මම පෙර කරපු වැරැද්ද නිසයි අද මේ මනුස්සයා මට දඬුවම් දෙන්න මේ උගුලට අහු වෙලා තියෙන්නෙ. මම පෙර කාටවත් බැනල නොතිබුනා නම් අද මේ අහිංසක මනුස්සයා මේ උගුලට අහුවෙන්නෙ නෑ.

එහෙනම් ඒ පුද්ගලයාට පාපයක් සිද්ධ වෙන්නෙත් නෑ.

**දේශක :** එදා ඔබම කරන ලද වරදක් නිසා අද අමාරුවෙ වැටිල ඔබට බනින මේ අහිංසක පුද්ගලයා ගැන අවංකවම ඔබ දැන් හිතන්නෙ කොහොමද ?

**ශ්‍රාවක :** ඇත්තටම පව් කියල හිතෙනවා. ඇයි ඔහු මේ නැවත විපාක දෙන කර්මයක් අද කරගත්තෙ මං නිසානෙ. දැන් ඉතිං ඔහුව බේරගන්න මම මොකක්ද කරන්න ඕන ?

**දේශක :** ඔහුටයි ඔබටයි දෙන්නටම බේරෙන්න පුළුවන් ක්‍රමයක් තමයි බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ. ඔබට මතක ඇති අපි මේ සාකච්ඡාවේ මුලදි කතා කළා, මේ ලෝකයේ දේවල් දැනගන්න විශේෂ ක්‍රමවේද 2 ක් ගැන. එතනදි අපි කතා කළේ විජානාති සහ පජානාති ගැන.

**ශ්‍රාවක :** ඔව් මට මතකයි. විජානාති කියන්නෙ විඤ්ඤාණ මායාවට අහුවෙලා මේ ලෝකෙ ඇසුරු කළාම සැප හෝ දුක් හෝ සැපත් නැති දුකත් නැති හෝ ලෙස දැනෙන දැනීම් 3 විඳීම් 3 ක් බවට පත් කරගෙන ඒවට රැවටිලා ලෝභ, ද්වේශ, මෝහ බවට පත් වෙලා පහත් තත්ත්වයකට ඇද වැටෙන දැන ගැනීමකට.

**දේශක :** එතකොට පජානාති කියන්නෙ කොහොම දැනගන්න එකද ?

**ශ්‍රාවක :** ඒ කියන්නෙ ප්‍රඥාවෙන් දැන ගැනීම. එහෙම නැත්නම් බුදු රජාණන් වහන්සේ පෙන්වා දුන් මේ ලෝකෙ ඇත්ත දැනගැනීම. තව විදිහකින් කියනව නම් සැප, දුක්, උපේක්ෂා... ආදී විඳීම් විඤ්ඤාණ මායාවට අහු වෙලා පටිච්ච සමුප්පන්නව ගොඩනැගෙන ඒවා බව වටහාගන්න එකට.

**දේශක :** හරි, ඔබ නිවැරදිව තේරුම් අරගෙන තියෙනවා. දැන් ඔය විජානාති විදිහට ලෝකය දැනගත්ත අය කර්ම නියමයේ උගුලට අහු වෙලා ලෝභ, ද්වේශ හදාගෙන තමන්ටම විපතක් කරගන්නවා. නමුත් පජානාති විදිහට දැනගන්න අය ලෝභ, ද්වේශ පාලනය කරගන්නවා පමණක් නෙවෙයි, අනුන්ගෙ කර්ම ඵල විපාක දෙන්න අටවන උගුල්වලට අහුවෙන්නෙත් නෑ.

**ශ්‍රාවක :** ඒ ක්‍රමවේදය පැහැදිලිව විස්තර කරල දෙන්න පුළුවන්ද ?

**දේශක :** දැන් ඔබට කවුරුහරි පුද්ගලයෙක් බනිනව කියල හිතන්න. එහෙම ඔබට බැනුම් අහන්න වෙන්නෙ ඇයි කියල ඔබ දැන් දන්නවා.

**ශ්‍රාවක :** ඔව්. මම කලින් මිනිස්සුන්ට බැනල තියෙන නිසා. ඒ වරදට දඬුවම තමයි දැන් ලැබෙන්නෙ.

**දේශක :** ඔබ කරපු වරදට දඬුවම් විපාක විදිහට ලබාදෙන්න අවශ්‍ය නිසා, ඔබට බැනල අමාරුවේ වැටිල ඉන්න පුද්ගලය ගැන දැන් මොකද හිතෙන්නෙ ?

**ශ්‍රාවක :** ඔය විදිහට කල්පනා කළාම මට ඔහු ගැන අනුකම්පාවක් තමයි හිතෙන්නෙ. හැබැයි මෙච්චර කල් මම කළේ, මට බැනපු අයත් එක්ක කේන්තියක් අරගෙන ඒ අයටත් නැවත බැනපු එකම තමයි.

**දේශක :** ඔබම කරන ලද අකුසල කර්මයක විපාකයකට ඔබ නැවතත් ලෝභ, ද්වේශම වෙලා තවත් අකුසල කර්මයක්මයි කරගත්තෙ. නමුත් ඔබ මේ ධර්මය වටහගෙන නම්, ඒ වෙලාවෙ පජානාති වෙලා ඇත්ත තේරුම් අරගෙන බනින කෙනා කෙරෙහි උපේක්ෂාවක්, අනුකම්පාවක් ඇති කරගන්නවා. හැබැයි මේ කියන්නෙ ඇලීම් සහගත අනුකම්පාවක් නෙවෙයි. ඒ පුද්ගලයා නිකං අමාරුවෙ වැටෙන බව දැනගෙන ඒකෙන් වැළැක්වීමේ අරමුණින් එන අනුකම්පාවක්. ඒ වෙලාවෙ ඔබට තියෙන්නෙ අලෝභ, අද්වේශ සිතක්. ඔබට පුළුවන් ඔබ නිසා අමාරුවෙ වැටුනු පුද්ගලයට මෙත් වඩන්න. ඒ වෙලාවෙ ඔබේ හිත අලෝභ, අද්වේශ නිසා ඔබ කරගන්නෙ කුසලයක්.

දැන් වැටහුනාද පජානාති වුනාම, ඒ කියන්නෙ බුදු රජාණන් වහන්සේගෙ ශ්‍රී සද්ධර්මය වටහගෙන තියෙනව නම්, ඔබට ඵල දෙන අකුසල කර්ම විපාකයකිනුත් නැවත කරගන්නෙ කුසලයක් බව. මේ විදිහට කල්පනා කරල බලනව නම්, මින් ඉදිරියට ඔබට කවුරුහරි බැන්නොත් ඔබ මොකද කරන්නෙ?

**ශ්‍රාවක :** ඒ ආකාරයට කල්පනා කළාම තමයි වැටහෙන්නෙ, මෙච්චර කල් මම කරල තියෙන්නෙ හරිම මෝඩ වැඩක් කියල. අපරාදෙ අලෝභ, අද්වේශ නගා ගන්න තිබිච්ච අවස්ථාවක් ලෝභ, ද්වේශ බවට පත් වෙලා විනාසයකුත් කරගෙන.

**දේශක :** ඔව්. ඒක හැමෝටම තේරෙන්න මෙහෙම කියන්න පුළුවන්. ඔබට කවුරුහරි බනිනව කියල කියන්නෙ දිව්‍ය ලෝකෙට යන්න අවස්ථාවක් ලැබෙනව කියන එකම තමයි. නමුත් ඔබ විජානාති නිසා ඒක අපායට යන්න අවස්ථාවක් බවට පත් කරගන්නවා.

**ශ්‍රාවක :** මම විජානාති වෙනව කියන්නෙ ලෝකෙන් එන රූප, ශබ්ද... ආදී අරමුණු කෙරෙහි ඇලිල ගැටිල විඳගන්න කටයුතු කරන නිසා. නමුත් පජානාති වෙලා ප්‍රඥාවෙන් කටයුතු කරනව නම්, දැඩි ඇලීමක් හෝ දැඩි ගැටීමක් හෝ හදාගන්නෙ නැතුව ඉඳල ලේසියෙන්ම බේරෙන්න පුළුවන්. හැබැයි මේක කරන්න පුළුවන් වෙන්නෙ සිහියෙන් හිටියොත් තමයි.

**දේශක :** ඒ වගේ සිහියෙන් ඉඳල ඇලෙන ගැටෙන අවස්ථා හඳුනගෙන, ඉන්ද්‍රිය භාවනාව කරල තමන්ව පහත් තත්ත්වයකට ඇද වැටෙන එකෙන් බේරෙන්න පුළුවන් වෙන්නෙ, මේ ලෝකෙ අසාරත්වය වටහල දෙන ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරල නිවැරදිව අවබෝධ කරගත්ත කෙනෙකුට තමයි.

**ශ්‍රාවක :** බුදු රජාණන් වහන්සේගෙ ශ්‍රී සද්ධර්මය නිවැරදිව වටහාගෙන කටයුතු කරන අයට විතරක්ම, මේ ජීවිතයෙදිම ලබා ගන්න පුළුවන් මහා සැනසීමක් තමයි ඇලීම ගැටීම පාලනය කරගන්න ලැබෙන එක. මේ ධර්මය ප්‍රායෝගික නෑ කියන හැමෝටම මම ආරාධනා කරනවා, ඉතා ඉක්මනින්ම මේ සාකච්ඡාවලට සම්බන්ධ වෙලා නිවැරදිව ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරන්න තියෙන අවස්ථාව ප්‍රයෝජනයට ගන්න කියල. ඊට පස්සෙ ඔබටම ප්‍රායෝගිකව අත්දැකීමක් ලැබෙයි, ඔබ මෙතෙක් කල් මේ ධර්මය ප්‍රායෝගික නෑ කියල කිය කියා හිටියෙ, ධර්මය නිවැරදිව අහල වටහගන්න පුළුවන් අවස්ථාවක් මින් පෙර කිසිම දිනක නොලැබුනු නිසාම තමයි කියල.

සටහන

**විද්‍යාවේදී ඒ. එම්. ධනරත්න අල්විස්**
**පැපිලියාන**
**071 2736623**

# වස විස භාවිතාවේ අඳුරු පැතිකඩ 10





අද වෙනකොට සාමාන්‍ය ජන ජීවිතයේ හැම අස්සක් මුල්ලක් නැරම වස විස පැතිරිලා තියෙන්නෙ. හැබැයි ඒවායින් දැනට ප්‍රධාන වෙන්නෙ කන බොන ආහාරවලින් එන වස විස. ඒ යටතේ දැනට සාමාන්‍ය ජනතාව නොදන්න, ඒ තරම් නොහිතන තවත් භයානක පැතිකඩක් ගැන තමයි මේ හෙළිදරව් කරන්නෙ.

විදෙස් ආක්‍රමණවලින් පස්සෙ අපේ රටට ආපු සුපිරි ගණයේ මිල අධික පළතුරක් විදිහට තමයි ඇපල් සැළකෙන්නෙ. ඇපල් ගෙඩියෙ තියෙන ඇස රවටන පිට ඔපයත්, ප්‍රියමනාප සුවඳත්, අනුභවයේ මිහිරි රසයත්, පහසුවත් නිසා බොහෝ අය කැමැත්තක් දක්වනවා. හැබැයි පිටරටවලින් මාස ගණනාවක් තිස්සේ නැව්ගත කරල එවන ඇපල්වල තියෙන විස කොච්චරද කියල ඒ කවුරුවත් දන්නෙ නෑ. පිට ලස්සනට තියෙනව නම් කීයක් හරි දීල කනව මිසක් කිසිම සොයා බැලීමක් නෑ.

සාමාන්‍යයෙන් ගෙදරක ඉදිච්ච අඹ ගෙඩියක් දින 2 - 3 කට වඩා තියාගන්න බෑ. ඒකෙ ජලය වාෂ්ප වෙලා කුණු වෙලා යනවා. ඒ වගේ පිටරටවල්වල ඇපල් ගෙඩියක් සාමාන්‍යයෙන් ඒ රටවල වෙළඳපොලේ තියෙන්නෙ දින 2 - 3 යි. ඊට පස්සෙ ඒක නරක් වෙනවා. හැබැයි මේ ඇපල් අපේ රටේ සති ගණනාවක්, සමහර විට මාස ගණනාවක් වෙළඳපොලේ තියෙනවා. ඒ වගේම පිටරටවලින් මෙහාට නැව්වලින් එන්නත් මාස ගණනාවක් ගත වෙනවා. එතකොට කොහොමද ඒ තරම් කාලයක් නරක් නොවී, කිසිම පණුවෙක් හෝ මැස්සෙක් විදින්නෙ නැතුව, කිසිම පළුද්දක් නැතිව තියෙන්නෙ? බලන්න ඔය වෙළඳපොලේ තියෙන කණ්ණාඩිය වගේ හොඳට දිලිසෙන තද රතු හෝ කොළ ඇපල් ගෙඩියක් අරගෙන. පිට පොත්ත හරිම සනයි. කිසිම සතෙක් විදලත් නෑ. පළුද්දක් වෙලත් නෑ. ඇපල් වවනකොට මොන ජාතියේ වස විස ගහල හදනවද කියන්න අපි දන්නෙ නෑ. නමුත් හැදුවට පස්සෙ ඒක අර විදිහට කල් තියාගන්න ගහන්නෙ මොනවද කියල දැන් හෙළිදරව් වෙලා තියෙනවා.

ඒ සම්බන්ධයෙන් ඉතා පහසුවෙන් කරල බලන්න පුළුවන් ප්‍රායෝගික පරීක්ෂණයක් තියෙනවා. වෙළඳපොලේ දිලිසි දිලිසි තියෙන රතු හෝ කොළ ඇපල් ගෙඩියක් අරගෙන ඒකට හොඳින් නටන උණු වතුර වත් කළාම, ටික වෙලාවකින් තැන තැන සුදු පාටට ඉටි මිදිල තියෙනවා දැක බලාගන්න පුළුවන්. ඒ වගේම ඒ ජලය මතු පිටත් ඉටි තෙල් තට්ටුවක් පා වෙනවා. ඊටත් වඩා සරල පරීක්ෂණයක් තියෙනවා. **ඇපල් ගෙඩියෙ පිට පොත්ත මුවහත් තියෙන කැපුම් තලයකින් හීරුවම තනිකරම සුදු පාට පැරපින් ඉටි තට්ටු පිටින් ගැලවිලා යනවා. ඒකෙන් තමයි ඇපල් ගෙඩිය විජලනය නොවී, නරක් නොවී ලස්සනට ඒ තත්ත්වයෙන් පවත්ව ගන්නෙ.**

එතකොට ඇපල් වවන විදෙස් රටවල් මොකද කරන්නෙ, ඒ අයගෙ පරිභෝජනයට අවශ්‍ය ඇපල් ටික වෙනම වෙන් කරගෙන අපිට එවන ඇපල් පෙට්ටි පිටින් පැරෆින් ඉටි සහිත බහාලුම් හරහා යවනවා. එතකොට අර හැම ඇපල් ගෙඩියක්ම ඉටිවලින් වැහිල යනවා. නවීන තාක්ෂණය යොදාගෙන කරන නිසා ඇපල් ගෙඩියෙ පිටින් බැලුවට එහෙම දෙයක් පේන්න නෑ. හරියට ලැමිනේට් කළා වගේ. පිටින් ලස්සනට දිලිසි දිලිසි තියෙනවා. ඒ වගේ දර්ශන දැන් අන්තර් ජාලයෙත් දැක බලාගන්න පුළුවන්.

ඉතිං මේ වගේ ඇපල් ගෙඩියක් වෙළඳපොලෙන් මිලදී ගෙන, පිටින් හෝදල පොත්ත සුද්ධ නොකර කෑවොත් අර පිටපොත්තෙ තියෙන පැරෆින් ඉටි ටික ඔක්කොම බඩට යනවා. පැරෆින් ඉටි කියන්නෙ හයිඩ්‍රොකාබන්. ඒව මනුස්ස ශරීරයට ජීර්ණය කරන්න බෑ. ඊට පස්සෙ ඉතිං රටේ නැති ලෙඩ. ආහාර මාර්ගයේ අජීර්ණ කෙළවරක් නෑ. ඒ නිසා ඇපල් ගෙඩියක් කන්නම ඕන නම්, පිට පොත්ත සම්පූර්ණයෙන් ඉවත් කරල දාල කන එක තමයි ශරීර සෞඛ්‍යයට හොඳ. ඒ වගේම සමහර ඇපල් ගෙඩිවල පිට ලේබලය ඉවත් කළාම සියුම් සිදුරක් දැක බලාගන්න පුළුවන්. ඒ තමයි ඒවා කල් තියාගන්න දිලීර නාශක... ආදී රසායන එන්නත් කරපු සිදුර. ඒක වැහෙන්න තමයි අර ලේබලය අලවන්නෙ. ඊට අමතරව තවත් විවිධාකාරයේ රසායන වර්ග මතු පිටින් ඉහිනවා.

ඇපල් විතරක් නෙවෙයි, පිටරටින් එන තද තැඹිලි පාට, එහෙම නැත්නම් කහ පාට දොඩම්වලටත් ඔය වගේ දෙයක් තමයි කරන්නෙ. නැව්වලට පටවනකොට කොළ පාටයි, ලංකාවට එනකොට තනිකරම කහ පාටයි. මොකද ඒකට විවිධ රසායන විදිනවා. ඉතිං නැවේදිම තැම්බිලා කහ පාට වෙනවා. හැබැයි ඒ ඉදිල නෙවෙයි. බලන්න ඒ දොඩම්වල පිට පොත්තෙ කිසිම පළුද්දක් නෑ. හරිම සනකමයි. ☞

ඒ වගේම කිසිම සුවඳක් නෑ. රස ධාතුවත් බොහොම හීනයි. මෙලෝ රහක් නෑ. පිට ඔපය විතරයි තියෙන්නෙ. නමුත් අපේ රටේ ඉස්සර හැදිච්ච දොඩම් එහෙම නෑ. දොඩම් ගෙඩියක් ලෙලි ගහනකොට ඒ පළාතම සුවඳයි. රසයත් ඒ වගේ.

මීට අවුරුදු ගණනාවකට පෙර බටහිර රටකින් ගෙනත් බිබිල ප්‍රදේශයේ දොඩම් වවන ගොවීන්ට, වගාවට ගහන්න කියල එක්තරා හෝමෝනයක් දුන්නා. ඵලදාව වැඩි කරගන්න කියල නොමිලේ තමයි ඒක ලබා දුන්නෙ. ඉතිං නොමිලෙ දෙනව නම් හෙම්බිරිස්සාව වුනත් බාර ගන්න අපේ උදවියත් මොකද කළේ, මේක දොඩම් ගහට දැම්මා. ඊට පස්සෙ ගහේ කොළ ගානට වඩා ගෙඩි ආවා. එතකොට ගොවියොත් හිතුවා, හරි මේක තමයි නියම බේත කියල. පළවෙනි වතාවෙ ගෙඩි 300 - 400 ක් විතර හැදුනා. හැබැයි ඊළඟ වතාවෙ මුළු ගහටම ගෙඩි 3 - 4 යි. ඊළඟ වතාවෙ පළා වදුලක්වත් නැති තත්ත්වයට පත් වුනා. අවුරුදු 5 ක් යනකල් කිසිම ගෙඩියක් නෑ. අපේ දොඩම් වගාව විනාස වුනේ එහෙමයි.

ඊට පස්සෙ ඒක ලබා දීපු පිටරට්ටු මොකද කළේ, ඒ අයගෙ රටින් අපට කහ පාට දොඩම් පෙට්ටි පිටින් එවන්න ගත්තා. ඇයි ඉතිං දැන් මෙහේ නැත්නම් පිටින් හරි ගේන්න එපැයි ! ඉස්සර මිනිස්සු එක ගහකින් දොඩම් ගෙඩි 200 - 300 ක් විතර කැඩුවා. ඒ නිසා ඒ කාලෙ ඒ ගස් හිමියො දොඩම් වාරෙට ගස් පිටින් බදු දීල ඒකෙන්ම ජීවත් වුනා. එහෙම කාලයක් ඉස්සර තිබුනා. නමුත් දැන් මොකද වෙලා තියෙන්නෙ? නොමිලේ හෝමෝනයක් දීල, පිටරට අය ඒ අයගෙ දොඩම් මෙහෙට ගේන්න පාර කපා ගත්තා. ඒකෙන් ඒ අයට ඒ වෙළඳපොල හැදුනා. අපේ මිනිස්සු ගොනාට ඇන්දුනේ එහෙමයි.

ඊළඟට දැන් ගහේ තියෙත්දිම අඹ ඉදවන ක්‍රමයක් සමහර පළාත්වල තියෙනවා. ලීයක බැඳපු කූඩයක් වගේ එකක් හදල, ඒකට එක්තරා රසායනයක් සහිත ටින් එකක් දාල වතුර ටිකක් දැම්මම එක්තරා දුමක් පිටවෙනවා. ඒක අර ගහේ තියෙන ගෙඩිවලට අල්ලනවා. එතකොට දවස් 2-3 න් ගහේ තියෙත්දිම ගෙඩි ඉදෙනවා. ඉතිං මිනිස්සුන්ට පේන්නත් එක්ක කොළ අතු පිටින්ම අඹ කඩනවා. එතකොට මිනිස්සු හිතනවා, මේ තියෙන්නෙ ගහේ ඉදිච්ච නියම ස්වභාවික අඹ කියල. ගහේ ඉදිල වගේ තමයි කොළ අතු පිටින්ම එන්නෙ. ඒ කොළ හැලෙන්නෙත් නෑ. නමුත් කිසිම රසක් ගුණක් නෑ, විස නම් තියෙනවා. වැඩි අස්වැන්නක් ඉක්මනට ගන්න කියල විදෙස් රටවලින් දෙන උපදෙස් තමයි මේ.

ඊළඟට දැන් වෙළඳපොලේ තියෙන, අපේ අසල්වැසි රටකින් ගෙන්වන වයිරම් සහිත කොමඩු වර්ගයක් තියෙනවා. වෙළඳපොලේ තිබුනට ඒවා නිකමටවත් මිලදී ගන්න සුදුසු නෑ. මොකද මෝරපු නැති ගැට කඩල තොග ගානෙ බහාලුම් පිටින් මෙහාට එවනකොට පොඩි සිරින්ජයකින් එක්තරා රතුපාට රසායනයක් එන්නත් කරනවා. කොමඩු ගෙඩියෙ නැට්ට ළඟින් තමයි ඒක එන්නත් කරන්නෙ. දවස් කිහිපයක් යනකොට ඒක ලංකාවට එද්දි ගෙඩිය ඇතුලෙ රතුම රතු පාටයි. ඉතිං අපේ මිනිස්සුත් බොහොම පහසුවෙන් පාටට රැවටෙන නිසා රතු පාට වෙච්ච ඒව තමයි හොයන්නෙ. හැබැයි ඇතුලෙ තියෙන්නෙ තනිකරම විස. මේ වගේ කූට උපක්‍රම දැන් හෙළිදරව් වෙලා තියෙනවා. ඒ නිසා ඒ වගේ පැණි කොමඩු මිලදී ගන්නකොට නැට්ට ළඟින් හොඳට සෝදිසි කරල බලල ගන්න ඕන. මොකද කැපුවට පස්සෙ ඇතුලෙන් හොයන්න බෑ.එහෙම නැත්නම් වෙළඳපොලේ තියෙන ඒ ජාතියේ ස්වභාවික කොමඩු සහ මේ විස ගහපු ඒවා අඳුන ගන්නත් ක්‍රමයක් තියෙනවා. ස්වභාවික නම් ගෙඩිය වතුරට දැම්මම යට යනවා. අර විස ගහපු එක වතුරට දැම්මට යට යන්නෙ නෑ. නැත්නම් අර්ධ වශයෙන් තමයි යට යන්නෙ. මොකද ඒ රසායනය එන්නත් කළාම ගෙඩිය ඇතුලෙ තියෙන ජලය ඒකට උරාගෙන වියළෙනවා. එතකොට බර අඩුයි.

මේ වගේ තමයි දැන් වෙළඳපොලේ තියෙන කිලෝ පේර කියල හඳුන්වන පේර වර්ගයත්. ගෙඩි නම් පොල් ගෙඩි තරම් ලොකුයි. කණ්ණාඩියක් වගේ දිලිසි දිලිසි තියෙනවා. හැබැයි මෙලෝ රහක් නෑ. හරියට ඇල් වතුර එකක් බිව්ව වගේ. කිසිම සුවඳකුත් නෑ. නමුත් ඉස්සර අපේ ගම්වල පේර ගහක ගෙඩියක් ඉදුනම කොච්චර සුවඳද රසද? එතකොට අද මොකද වෙලා තියෙන්නෙ? ඉතා කෙටි කාලයක් තුළ වැඩි ඵලදාවක් ගන්න කියල පේර ගහේ මල් එන්නයි, මල් පුදින්නයි, ගෙඩි ලොකු වෙන්නයි මේ හැම එකකටම විස රසායන ගහනවා. බලන්න දවස ගානෙ වෙළඳපොලට එන මේ කිලෝ පේර කොච්චරද කියල. මහා ගෝනි ගණන් එන්නෙ. නමුත් අපි හොඳටම දන්නවා, සාමාන්‍යයෙන් ස්වභාවිකව ගහක පේර හැදෙනකොට දවස ගානෙ එහෙම ඵලදාවක් ගන්න බෑ. පේර ගෙඩියක් මල් පීදිලා ලොකු වෙලා පැහෙන්න සැළකිය යුතු කාලයක් ගත වෙනවා. ඒක කඩා ගත්තට පස්සෙ ඊළඟ ගෙඩිය එන්න තවත් ඒ වගේම කාලයක් යනවා. ඒ නිසා තමයි ඒවාට වාරයක් අවාරයක් තිබුනෙ. නමුත් දැන් තියෙන කිලෝ පේරවලට අවාරයක් නෑ. හැමදාම ගෙඩි. ඒකෙන්ම හිතාගන්න පුළුවන් කොහොමද එහෙම හදන්නෙ කියල.

ඊළඟට අඹ, පැපොල්, කෙසෙල් වගේ සමහර පළතුරු ඉදවන්න එතරල් කියල තවත් විස රසායනයක් හඳුන්වා දීල තියෙනවා. හැබැයි ඒක ගහන්න ඕන ක්‍රමයක් තියෙනවා. ඒ කියන්නෙ කෙලින්ම පළතුරුවලට ගහන්න බෑ. එහෙම ගැහුවොත් අධික විසයි. ඒ නිසා ඒ රසායනය දිය කරල කාමරයක මැද තියල ඒ වටේට පළතුරු ටික තියන්න කියල තමයි නිර්දේශ කරල තියෙන්නෙ. එතකොට පැය 24 න් ඉදෙනවා. ඒකත් හොඳයි කියනව නෙවෙයි. නමුත් අපේ මෝඩ මිනිස්සු මොකද කරන්නෙ, ඕක කෙලින්ම පළතුරුවලට ඉහිනවා. ඉතිං තැම්බිලා කහ පාට ගැහෙනවා. අපි හිතන්නෙ හොඳට ඉදිල කියල. හැබැයි තනිකරම වස. ඒ විදිහට ඉදවපු අඹ, කෙසෙල්, පැපොල් තමයි දැන් කොළඹ වගේ නාගරික ප්‍රදේශවල බොහෝකොටම විකුණන්න තියෙන්නෙ.

ඉතිං මේ වගේ වෙළඳපොලේ තියෙන හැම පළතුරක්ම වගේ දැන් විස වෙලා තියෙන්නෙ. බොහොම කලාතුරකින් තමයි විස නොගහ ස්වභාවිකව හදන පළතුරු තියෙන්නෙ. ඒ විස වීමේ ඊළඟ ප්‍රතිඵලය තමයි ඒවා කන බොන අයට බෝ නොවන මාරාන්තික ලෙඩ රෝග හැදීම. ඒක කාලයත් සමග සිද්ධ වෙන දෙයක්. ඊළඟට බහුජාතික සමාගම් හරහා ඒ රෝගවලට බේත් හේත් එනවා. ඒක තමයි ඒ අයගෙ ඊළඟ වෙළඳාම. මිනිස්සු ලෙඩ වෙනකල් තමයි ඒ අය බලාගෙන ඉන්නෙ. ඒ නිසා මේ හැම එකක් පිටිපස්සෙම තවත් කූට වෙළඳ උපක්‍රම තියෙනවා. මේවා එකින් එකට ජාලයක් වගේ බැඳිල තියෙන්නෙ. ඉතිං ජීවිත කාලයටම වහ කාල ලෙඩ වෙලා විඳවල අන්තිමට හිඟන්නො වෙලා තමයි අද බහුතරයක් මැරෙන්නෙ. ඒ තත්ත්වයෙන් ඉදිරියෙදිවත් අත් මිදෙන්න තමයි මේ දැනුවත් කිරීම් කළේ.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# සමාධිමය අත් බෙහෙත්.....

වහරක අභයරතනාලංකාර හිමියන් ගිහි වතක සිටියදී බෙහෙත් සමාධියෙන් මතු කර ගත් තවත් ප්‍රත්‍යක්ෂ අත් බෙහෙත් කිහිපයක් තමයි මේ සටහන් කරන්නෙ. වැඩි වියදමකින් තොරව හදා ගන්න පුළුවන් මේ බෙහෙත් අතුරු ආබාධවලින් තොර නිසා හැමදෙනාටම පාවිච්චි කරන්න පුළුවන්. නමුත් මීට පෙරත් සඳහන් කළා වගේ, ඒ ඒ පුද්ගලයන්ගෙ කර්ම ශක්තීන්ට යටත්ව මේ සියළු බෙහෙත් ප්‍රත්‍ය වෙන බව සළකන්න ඕන.













### 1. වස විස ශරීරගත වීමෙන් හට ගත් දියවැඩියාව සමනයට

මේ කියන්නෙ පරම්පරාවෙන් එන කර්මජ දියවැඩියා රෝගය නෙවෙයි, අද කාලෙ කන බොන ආහාරත් එක්ක එන විවිධ වස විස ශරීරගත වීම නිසා ඇතැම් අයට හට ගත් දියවැඩියා රෝගය. ඒ වගේ දියවැඩියා රෝගය තියෙන සමහර අයට මේ බේත ප්‍රත්‍ය වෙනවා. මානෙල් අල, වරක පොතු, පිරිසිදු වියළි ඉඟුරු කියන මේ අමුද්‍රව්‍ය සම සමව අරගෙන, වේළල කුඩු කරල රාත්‍රී නින්දට පෙර කෝපි වගේ වත් කරල පානය කරන්න.

මෙතනදි වරක පොතු කියන්නෙ, ගහේ පිට පොත්ත සහ ලීය අතර තියෙන ඉස්ම සහිත කොටස. ඒ නිසා ගහේ පිටම තියෙන කුරුට්ට සහිත පොත්ත සුද්ද කරල ඊළඟ කොටස ගන්න ඕන. ගහේ සිරස් අතට තුනී පට්ටයක් විදිහට කපා ගත්තම ගහට හානියක් වෙන්නෙත් නෑ. ඒ වගේම දන් වෙළඳසැල්වල විකුණන ඉඟුරුවලට බොහෝ කොටම අළු හුණු වගේ විස යොදල තියෙන නිසා විස්වාසවන්ත තැනකින් ඒවා ලබා ගන්න ඕන.

### 2. සෙම්, වාත ආබාධ දුරු වීමට

උණ බොඩ ඉස්ම, රත් හඳුන් කුඩු, ඉඟිනි ඇට කුඩු, සුදු එළණු, තල, අමු ඉඟුරු, රත් නිටොල් මුල්, නා පොතු, ගොරක කියන මේ අමුද්‍රව්‍ය කලං 4 බැගින් අරගෙන පිරිසිදු පොල්තෙල්, අබ තෙල්, මී තෙල්, එඬරු තෙල්, තල තෙල් අවුන්ස 4 බැගින් දමා, කර පාකයට ළං වෙන කල් මයුර පාකයට හිඳ ගන්න. ඒ විදිහට හදාගත්තු තෙල උදේ හවස අත් පාවල ගාන්න.

### 3. අංශභාගය සහ වස විස ශරීරගත වීමෙන් හට ගත් දියවැඩියාව නිසා ඇති වූ අතුරු ආබාධ සඳහා තෙලක්

මේ තෙලත් ඉහත විස්තර කළා වගේ ප්‍රයෝග විපත්තිවලින් හට ගත්ත රෝගවලට තමයි ප්‍රත්‍ය වෙන්නෙ. විශේෂයෙන් දන් තියෙන දියවැඩියාව කියන්නෙ වස විස ශරීරගත වීම නිසා ඉන්ද්‍රියන්ගේ අක්‍රිය වීමෙන් හට ගත් ප්‍රයෝග විපත්තියක් කියන කාරණය මේ සඟරාවෙ මීට කලිනුත් විස්තර කළා.

ඒ විස ශරීරයේ තැන්පත් වීමත් විවිධාකාරයෙන් සිද්ධ වෙලා තියෙන්න පුළුවන්. ඒ නිසා අතපය හිරි වැටීම්, හන්දිපත් අමාරු, ඇසේ සුද... ආදී නොයෙකුත් අතුරු ආබාධ තත්ත්වයන් ඇතිවෙන්න පුළුවන්. අන්න ඒ වගේ අවස්ථාවල ඒ විස එක්තරා ආකාරයකට ඉවත් කිරීමක් මේ තෙලෙන් සිද්ධ කරන නිසා ඒ අතුරු ආබාධ තත්ත්වයන් දුරු කරගන්න පුළුවන්.

අන්නාසිබොඩ, තල් සූකිරි, ඉඟිනි ඇට කුඩු, නිදිකුම්බ මල්, පොළොස් ගැටයක ඉහටි පළුව, රත් කෙසෙල් මුව, සමන්පිච්ච කැකුළු, හීන් නාරං පොතු, තැඹිලි මල් ඉති කියන මේවා ග්‍රෑම් 50 බැගින් බැගින් අරගෙන, පිරිසිදු තල තෙල් බෝතල් 1 යි, එඬරු තෙල් බෝතල් 1/2 යි, පොල්තෙල් බෝතල් 2 යි දමා සම පාකයට හිඳ ගෙන මාස 3 ක් උදේ හවස හිසට දමන්න. හිසේ තුවාල වීමෙන් සිද්ධ වූ නහර වේළීම් නිසා ඇති වූ ලේ කැටි ඇතුළු අංශභාගය, වස විස ශරීරගත වීමෙන් හට ගත් දියවැඩියාව නිසා ඇති වූ අතුරු ආබාධ... ආදී රෝග සමනයට මේ තෙල යෝග්‍යයි.

### 4. අධි රුධිර පීඩනය සඳහා

සිංහල නිවුඩු හාල් සේරු 8 ක් සේදූ වතුර බෝතල් 8 යි, යම්තම් ඇඹුල් වුනු දෙහි ගැට කැලි කපා කිලෝ 2 යි, ගරුඬරාජ රිකිලි ග්‍රෑම් 20 යි, යම්තම් කුරු ඇදුනු පොල් මොටෙයියන් ග්‍රෑම් 20 යි, අළු කෙසෙල් මොටෙයියන්ගේ (අල සමග) කොටා ගත් ඉස්ම බෝතල් 1/2 යි (මොටෙයියන් නැත්නම් අළු කෙසෙල් ගස් වුනත් කමක් නෑ.), කෝමාරිකා මද ග්‍රෑම් 20 යි, උළු හාල් ග්‍රෑම් 20 යි.

මේ සියල්ල, ඇඟිල්ල දමන්න බැරි / පුළුවන් මට්ටමට රත් වෙන තරමට පැය 24 ක් මඳ ගින්නෙ තියල කැබලි පොඩි කරල පෙරාගෙන නිවුනට පසු පිරිසිදු මී පැණි බෝතල් 2 ක් දමල කනක්කයක දාල දින 7 ක් වහල තියල නැවතත් පෙරාගෙන හුළං නොවදින්න වීදුරු බෝතල්වල අසුරල තියා ගන්න. කනක්කයක් කිව්වම, ඇළුමිනියම් නොවන මැටි කළගෙඩියක් වගේ භාජනයකට මේ ද්‍රාවණය දාල, ඒකෙ කට රෙදි පටි කැල්ලකින් හොඳට ඔතල, ඊට උඩින් පොල් කටුවක් හෝ නැඹිලයක් වගේ දෙයකින් වහල, බාහිර පරිසරයෙන් හුළං ඇතුලට නොයන්න හදා ගන්න ඕන.

ඒ විදිහට හදාගත්තු බේත අවුරුද්දක් යන කල් පාවිච්චියට ගන්න පුළුවන්. දවසට 3 වරක් උදේ, දවල්, හවස මේස හැඳි 1 බැගින් ගන්න. බෝතල් 1 1/2 ක් ඉවර වෙනකොට ලේ නහරවල බැඳිල තිබ්බ්ච කාරම් කැපිල ස්වභාවික හද ගැස්ම ඇති කරමින් නිරෝගී බවට පත්වෙනවා.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 69 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය**

■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා - මොරටුව ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ ඒ. එම්. ධනරත්න අල්විස් මහතා - පැපිලියාන ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ නිවන්ති වීරතුංග මහත්මිය - මාතලේ ■ දර්ශන පෙරේරා මහතා - පිළියන්දල ■ රත්න පෙරේරා මහතා - කැස්බෑව ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දායක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය**

■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ නිමල් ජයසිංහ මහතා ඇතුළු පවුලේ සැම - පානදුර - රු. 25,000/- ■ උදිත බණ්ඩාර මහතා සහ නදීකා පියදාස මහත්මිය - පාදුක්ක - රු. 20,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනූ ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ රු. 4,000/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ ඩිලානි ඩයස් මහත්මිය ඇතුළු පවුලේ සැම - නාවින්න - රු. 3,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා සහ නිලූෂි දිසානායක මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 3,000/- ■ සුජීවනි ජයවර්ධන මෙනවිය - පාදුක්ක - රු. 2,500/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ එරන්දතී සඳසීලි මහත්මිය - නිට්ටඹුව - රු. 2,500/- ■ යූ. ඩී. රෝෂන දිල්ශාන්ත මහතා සහ දුලානි මණ්ඩාවල මහත්මිය - පොළොන්නරුව - රු. 2,500/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු. 2,000/- ■ උපුල් පරාක්‍රම ද සිල්වා මහතා - මාරවිල - රු. 2,000/- ■ පී. රුවිනා දීපානි මහත්මිය ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 2,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 2,000/- ■ කීර්ති සෙනරත් මහතා ඇතුළු පවුලේ සැම - බුජ්ජම්පල - රු. 2,000/- ■ කේ. රත්නා චාන්දනී මහත්මිය ඇතුළු පවුලේ සැම - ඉතාලිය - රු. 2,000/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ තිලානි ද සිල්වා මහත්මිය - රු. 1,500/- ■ බී. ඒ. වීරසේන මහතා - යක්කල - රු. 1,500- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 1,400/- ■ තිලකසිරි ජයරත්න මහතා, මාලක මහතා, චතුරානි මහත්මිය, තිනෙත් පුතා, සේමිණි දුව - පස්යාල - රු. 1,100/- ■ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - 1,000/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ■ චතුරිකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු. 1,000/- ■ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු. 1,000/- ■ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණි නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - රු. 1,000/- ■ ජී. ඩී. ඩබ්. සෝමරත්න මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමන්ති රාජපක්ෂ මහත්මිය - පන්නිපිටිය - රු. 1,000/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳාන - රු. 1,000/- ■ එල්. එම්. සුනිල් මහතා - දෙවිනුවර - රු. 1,000/- ■ ඒ. ධර්මපාල මහතා - එල්ලක්කල - රු. 1,000/- ■ ඒ. ඒ. වින්ධ්‍යා නිර්මාණි දුව - රදාවාන - රු. 1,000/- ■ තරිඳු විජේසිංහ මහතා - රනාල - රු. 1,000/- ■ දිලංකා අබේවර්ධන මහත්මිය සහ ඉෂානි අබේවර්ධන මහත්මිය - බත්තරමුල්ල - රු. 1,000/- ■ කිංකිණි විලාශිනී ජයවර්ධන මහත්මිය - කොච්චිකඩේ - රු. 1,000/- ■ ඒ. ඒ. ගීතානි මහත්මිය - කොට්ටාව - රු. 1,000/- ■ ඩබ්. ඩී. පද්මලතා මහත්මිය - වේයන්ගොඩ - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළගෙඩිහේන - රු. 1,000/- ■ චන්ද්‍රසේන ඉලේසිංහ මහතා සහ දයා ඉලේසිංහ මහත්මිය - නිට්ටඹුව - රු. 1,000/- ■ කේ. එම්. කේ. චන්ද්‍රිකා ප්‍රියානි පෙරේරා මහත්මිය - මීනුවන්ගොඩ - රු. 1,000/- ■ සී. එස්. ගඟබඩගේ මහතා - ඇල්පිටිය - රු. 1,000/- ■ ඉෂාන් විමුක්ති දසනායක පුතා - හෝමාගම - රු. 1,000/- ■ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු. 1,000/- ■ බන්දුල අමරවික්‍රම මහතා සහ ලාලනී අමරවික්‍රම මහත්මිය - පිළියන්දල - රු. 1,000/- ■ දයා මොරවාලියද්ද මහත්මිය - ඉහළ උඩුගම්පොළ - රු. 1,000/- ■ සෙනරත් බණ්ඩාර බස්නායක මහතා - යක්කල - රු. 1,000/- ■ වජිර හෙට්ටිගේ මහතා - රුක්මල්ගම - රු. 1,000/- ■ එච්. ආර්. එස්. ශාන්ති රණසිංහ මහත්මිය - අම්පාර - රු. 1,000/- ■ පද්මිණී වික්‍රමසිංහ මහත්මිය සහ විදුර වික්‍රමසිංහ මහතා ඇතුළු පවුලේ සැම - ගම්පහ - රු. 1,000/- ■ පද්මා ජයනෙත්ති මහත්මිය, මලිති ජයනෙත්ති මෙනවිය සහ ඉසුරු ජයනෙත්ති මහතා - නුගේගොඩ - රු. 1,000/- ■ තිස්ස බී. අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්. ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු

සම්පත් මහතා - කළුතර, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, රසික තුෂාන්ත මහතා - හෝමාගම, කේ. ඩී. සුනේත්‍රා මහත්මිය - මීගොඩ, සෝමා කොතලාවල මහත්මිය - මොරලිය, මැණික් කුරුප්පු මහතා - හේමාස් ආයතනය - එකතුව - රු. 4,700/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 218,200/- ■ පළමු පිටපත් 12,000 සඳහා මුද්‍රණ වියදම - රු. 300,000/- ■ අනෙකුත් වියදම් - රු. 15,900/- ■ සම්පූර්ණ වියදම - රු. 315,900/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු 26.33 ■ මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

***හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.***

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net | mp3.hiddendhamma.net | www.helabodhupiyuma.net | www.aaryadharma.org

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895 / 036-2267111 / 072 7076688

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සැම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ (2) හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (0714220558 /0112744308) (3) නිව් පියුම් කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම- 0112895132 (5) අමර බුක් ෂොප් ඇන්ඩ් කොමියුනිකේෂන් - අංක 113/11 ඒ, බණ්ඩාරනායක මාවත, රත්නපුර - 071-2404242, 072-2404242 (6) පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369 (7) ස ර ස වි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041-3021878 (9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 0714569500, 035-3222220 (11) සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ 071826 1500 / 0662245353 (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 0112857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 0766114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091-2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041- 2225118 (17) සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776 (18) මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 0711662643 (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 0719856555 (20) ඒකනායක මන්තින්දාරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 - 541 64 61 / 081 - 20 57 572 (21) අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 0766442125 (22) රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 0312277726 (23) දම්රුස් ටෙක්ස් - 10 බී, ගාලු පාර ගල්කිස්ස - 0112721037 (24) ඩබ්. කේ. නලිනසේකර මහතා - මඟුළුමස්විල, වලල්ලාවිට - 0342284428 (25) නිව් නදී ඉන්ඩස්ට්‍රීස් - 160 ඒ, දෙහිවල පාර, මහරගම - 0112842290 (26) චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 0552294999 (27) කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 0769604682, 0713329621 (28) රුචිර ද සිල්වා මහතා - අංක 09, ග්‍රෑන්ඩ් හොටෙල් පාර, නුවරඑළිය - 0772717514 (29) ගමගේ පොත්හල, අංක 119 ඒ/1, මිද්දෙණිය පාර, අඟුණුකොළපැලැස්ස - 0714492649 (30) නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 0772292677 (31) රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 0712136329 (32) සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 0755863883, 0552250051 (33) සෙල්මින් ලේබල් (පුද්.) සමාගම - 313/29 බී, ගෝනමඩිත්ත පාර, පිළියන්දල - 077 3018686 / 011 2616349 (34) සෙනරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 (35) Mr. Coffee, කෙලින් වීදිය, දේවාලෙගම (පොල්ගහවෙල පාර) - 0714569500 / 0353222220 (36) අමිල ට්‍රේඩර්ස්, අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 0757246797

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# අසත් දහම දුරලමු

හවත් මුනිඳු දෙසු බණ දුක පවස නිවා
වියත් බොදුහු අදහති දණ සිරස නවා
එහෙත් අමන දන අද රට නොමග යවා
අසත් බණ දෙසති පතුරති උදය හවා

භව දුක නසන මග බුදු හිමි දෙසුව ලෙද
පවතිනු මිසක කිසි දින එය අගරු වෙද
සුව සෙත සැදුව දහමකි මන බඳන ලද
නිවනම දෙසනු මිස කුමටද නිසරු පද

එම මග පිය නැගුව අපෙ මහ සඟන නමක්
නිම කළ වග සසර අමතක නොවන යමක්
කිම අප නොයනු එම මග නැති කමද පිනක්
තම නැණ යොදනු බොදු අප කළ යුතුම දෙයක්

අසූ හාර දහසක් දම් කඳ දෙසුව
ඇසූ පිරිස එදවස භව දුක නැසුව
විසූ මුනිඳු ළඟ සමහරු බණ ඇසුව
නැසූ වගක් නැත මොහඳුර වුව පසුව

බුදු හිමි අභියසදි බණ දහම නොදැකපු
හුදු සඟ පිරිස සිටිමුදු සසුන කෙළෙසපු
පොදු මහ සඟන එමටය සසුන සුරැකපු
බොදු දම රකිමු ලෙස පෙර සිටම සළකපු

පිරිහෙන බවකි සසුනද කෙමෙන් දින දින
දැන ගෙන එබව සැදැහැති සිතින් හැම දෙන
දැහැමින ගුණෙන තෙරුවන බෙලෙන් රැක ගෙන
යහතින වසමු වදහළ ලෙසින් බුදු බණ

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා










# අසිරියි සමිඳුනේ ආදාහනය පවා...

මහ රහතුන් වැඩම සිටි පෙර දවස දැනේ
යහපත විහිද වූයේ මහ ගුණය කිනේ
වහරක හිමි සඳුගෙ ආදාහනය දිනේ
සහ පිරිවරද සමගින් දෙව් බඹද වුනේ

වළාකුළුවලින් සැදි නෙළුමන් අහසේ
වෙළා උඩු වියන් මෙනි ගරුවෙන් සහසේ
බලා දැවෙන දෙණ දෙස දෙවියන් රහසේ
පලා ගිය වගයි ගෙන ධාතුන් තුටු සේ

ඇත් දළ කිරිගරුඬ මුතු නෙක පැහැය ගෙන
පත් විය මහ රහත් දෙණ අසිරියක මෙන
ගත්තද දෙව් බඹුන් කොටසක් එබව දැන
අත් දෙක එකතු වෙයි වඳිනට බැතිය කින

ඇසි පිය ගහන මොහොතින් උපහරද මවා
නිසි ලෙස කළා දෙව් බඹ මනු සතද ලවා
විසිරුනු ධාතු පවසයි මහ ගුණය හුවා
අසිරියි සමිඳුනේ ආදාහනය පවා

ජර පත් නොවූ සිරි දෙණ මුදු ගුණය ගෙන
උර දුනි ලෝ සතට කර ගැනුමටම පින
හරවත් ලෙසට විය බැති උපහරද දැන
මරණය නොවේ හිමියනි පිරිනිවන වින

සළුන් සෑය ගිනි ගෙන හිමි දෙණ ගාවා
බවුන් වඩන සත දහමට සිත වූවා
බඹුන් දෙව් ඉහළ සිට ආසිරි පෑවා
නිවන් දුටු සමිඳ මේ උපහර වේවා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන


1069 Rs.25.00
Hela Bodhu Piyuma 69

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී